ශ්‍රී ඥානාරාම ස්වාමීන්ද්‍රයන් වහන්සේ අනුස්මරණ ග්‍රන්ථ මාලා - අංක 20

# සතිය

**කර්තෘ**

ජර්මන් ජාතික පූජ්‍යපාද අනාලයෝ ස්වාමීන් වහන්සේ

**පරිවර්තනය**

පූජ්‍ය උඩර්රියගම ධම්මජීව ස්වාමීන් වහන්සේ

**ධර්ම දානයක් වශයෙන්**
**නොමිලයේ බෙදාහැරීම පිණිසයි.**

**ප්‍රථම මුද්‍රණය - 2003 අප්‍රේල්**
**දෙවන මුද්‍රණය - 2016 ජනවාරි**
**තෙවන මුද්‍රණය - 2017 ජනවාරි**

**මුද්‍රණය**

කොලිටි ප්‍රින්ටර්ස්
17/2, පැඟිරිවත්ත පාර,
ගංගොඩවිල පාර, නුගේගොඩ
දුරකථනය: 011 4 870 333

අපවත් වී වදාළ
ශ්‍රී කලයාණි යෝගාශ්‍රම සංස්ථාවේ ප්‍රධානාචාර්ය
මීතිරිගල නිස්සරණ වනය ආරණ්‍ය සේනාසනාධිපති
කම්මට්ඨනාචාර්ය, රාජකීය පණ්ඩිත අති පූජ්‍ය
මාතර ශ්‍රී ඥානාරාමාභිධාන මහෝපාධ්‍යාය මාහිමියන් වහන්සේට
ප්‍රාප්තිදාන පිණිස,

ශ්‍රී කලයාණි යෝගාශ්‍රම සංස්ථාවට පනස්වන වසර පිරීම නිමිත්තෙන්
එම සංස්ථාවේ ගරු සමුද්පාදක හා ප්‍රධාන අනුශාසක,
ගල්දුවේ ශ්‍රී ගුණවර්ධන යෝගාශ්‍රම මධ්‍යස්ථානාධිපති

රාජකීය පණ්ඩිත අති පූජ්‍ය
කඩවැද්දුවේ ශ්‍රී ජිනවංශාභිධාන මාහිමිපාණන් වහන්සේට
සතිය
නම් වූ මෙම ග්‍රන්ථය සාතිශය ගෞරවයෙන් පිළිගන්වමු.

# හැඳින්වීම

සතිය නමින් සැරසී ඇති මෙම පරිවර්තිත රචනය පිළිබඳව හැඳින්වීමක් ලිවීමේදී නිතැතින්ම මුලින්ම මතකයට නැඟෙන්නේ අපට සිටි කල්‍යාණ මිත්‍ර සත්පුරුෂයකු වූ ගොඩ්වින් සමරරත්න මහත්මා සමීපයේ අත්විඳින ලද අතීතයයි. මෙම මුල් රචනය ඉංග්‍රීසි බසින් රචනා කළ ජර්මන් ජාතික පූජ්‍ය අනාලයෝ ස්වාමීන් වහන්සේ ගොඩ්වින් මහත්මාගේ ආරාධනයකට අනුව වරක් ලේවැල්ල භාවනා මධ්‍යස්ථානයට වැඩම කළහ. එහිදී උන්වහන්සේ අපට හඳුන්වා දෙන ලද්දේද ගොඩ්වින් මහතා විසින්මය. එදා පටන් අද දක්වාම අප අතර පවතින උණුසුම් මිත්‍රත්වයට එක් හේතුවක් නම් මෙම සත්පුරුෂ හඳුන්වා දීමයි. අප සියලුදෙනා විසින් ඉහළින් සලකනු ලබන ''සතිය'' පිළිබඳව අප තුළ පවත්නා පිළිපැදීමත් ඊට බොහෝ උපකාරී වන්නට ඇත. ගොඩ්වින් මහතා අප අතරින් වියෝ වී ගියත් අපගේ මේ ධර්මමය මිත්‍රත්වය නිසා, පූජ්‍ය අනාලයෝ ස්වාමීන් වහන්සේ තම ආචාර්ය උපාධිය සඳහා ''සතිපට්ඨානය'' යන මාතෘකාව යටතේ රචනා කළ නිබන්ධනයේ සෝදු පත් කියවීමට අපට ආරාධනා කළහ. විශාල පොතක් වූ එම නිබන්ධනය කියවීමේදී, එහි අන්තර්ගතව තිබූ සතිය නම් වූ මෙම පරිච්ජේදය සිංහලට නැංවීමට අවසරය අපට ලබා දෙන්නේ නම් සෝදු පත් කියවීම භාරගන්නා බව දැනුම් දුනිමි. එම ස්වාමීන් වහන්සේ මෙම පොරොන්දුව ඉවසා, තම නිබන්ධනයේ සාර්ථක නිමාවෙන් පසු අදාළ කොටස පරිවර්තනය සඳහා අප වෙත යොමු කළේ තවත් අය ඒ සඳහා ඉදිරිපත් වී කටයුතු කරමින් සිටියදීමය.

මෙලෙස ආරම්භ කළ මෙම පරිවර්තනය තවත් භාවනානුයෝගී පිරිසකගේ සහයෝගය ඇතිව සාකච්ඡා කරමින්, සුද්ධ කරමින්, මේ තාක් දුර ගෙන එන ලදි. එම කටයුතු කෙරීගෙන

යාමේදී පූජ්‍ය අනාලයෝ ස්වාමීන් වහන්සේගේ මාර්ගයෙන්ම නිස්සරණ වනය හඳුනාගත් යෝගාවචර ශ්‍රීමන්ත ජයවර්ධන මහත්මා මෙහි බරපැන ඉසිලීමට භාරගත්තේය. මුද්‍රණය කිරීමේ කටයුතු සැලකිල්ලෙන් ඉටු කර දුන් ''හයිටෙක් ප්‍රින්ට්'' අධිපති පින්වත් කමල් ඇඹුල්දෙනිය මහතා පුද්ගලිකවම හමු වී අදාළ ගෙවීම් කොට මුද්‍රණය කර දෙන ලෙසට ශ්‍රීමන්ත ජයවර්ධන මහත්මා කටයුතු සලසා ලීය. අති පූජනීය නා උයනේ අරියධම්ම ස්වාමීන් වහන්සේගේ ප්‍රධාන අනුශාසකත්වය ඇතිව, භාවනා කටයුතු සම්බන්ධ පොත් පත් මුද්‍රණය සඳහාම අමාදම් සංගමය නමින් පිහිටුවාගත් අප සංගමය වෙනුවෙන් අවසන් සෝදු පත් කියවා අනුමැතිය ලබා දෙනු ලැබුයේ එහි අනුශාසක පූජ්‍ය මීතලාවේ විනීත ස්වාමීන් වහන්සේ විසිනි.

ලංකාව වැනි සම්ප්‍රදායානුකූල බෞද්ධ රටවල, විශේෂයෙන්, සතිය යනු කුමක්දැයි නොදන සතිපට්ඨානය වඩන්නෝ බහුලයහ. එහෙත් බුද්ධ ජයන්තියට පසු සමයෙහි ලෝකයේ බෞද්ධ භාවනා ක්‍රමවල යම් පුනර්ජීවනයක් ලැබුවා නම් ඒ වෙන කිසිවක් නිසා නොව, පෙරට වඩා යෝගාවචරයන් සති චෛතසිකයට ගෞරව කළ නිසාත් ඒ කෙරෙහි ඇදහීමෙන් කටයුතු කළ නිසාත් යයි කීම අතිශයෝක්තියක් නොවනු ඇත. මෙය ලෝ වටා සිටින සියලු යෝගාවචරයන් එකම කල්‍යාණ මිත්‍ර බැම්මෙන් බඳින පුදුම සහගත ආකර්ෂණීය චෛතසිකයකි. ඒ සම්බන්ධයෙන් ත්‍රිපිටකයේ, විශේෂයෙන් සූත්‍ර පිටකයේ සඳහන් වී ඇති සියල්ල මෙහි සංග්‍රහ වී තිබෙන නිසා මෙය සතිය සම්බන්ධ මූලාශ්‍ර සංග්‍රහයකි. මූලික රචනය වනාහි සමථ විපස්සනා වශයෙන් භාවනා ක්‍රමයකට විශේෂ යොමුවක් ලබා දීමට උත්සාහ නොකරයි. තමා වඩන භාවනා ක්‍රමය අනුව හෝ තවත් විස්තර දැනගැනීමට කැමැත්තක් ඇත්නම් ඒ අයගේ පහසුව පිණිස රචනය අගට උධෘත පාඨවල ලැයිස්තුවක් එකතු කොට ඇත.

මුල් ඉංග්‍රීසි රචනයේ පරිදි, රචනයේ අදාළ ස්ථානයට (වචනයට පිටුපසින් සහ පේළියට යටින්) අනුක්‍රමික අංකයක් යොදා, ඒ අනුව අදාළ උධෘත පාඨ ක්‍රමාංකනය කොට ඇත.

මෙම කෘතිය කියවා, සතිය පිළිබඳව මේ තාක් නොදන සිටි යමක් ඇත්නම් දැනගැනීමත් දැනගෙන සිටි කරුණු භාවනාවට අදාළ කරගන්නා ආකාරය වටහාගැනීමත් යම් ප්‍රමාණයකට හෝ සිදු වේ නම්, එය අප සංගමයේ සතුටට හේතු වනු ඇත. මේ කෘතිය එළි දැක්වීමට කෙළින්ම සම්බන්ධ වූ යට සඳහන් කළ සියලුදෙනාටද මෙම පොතේ දෙවන මුද්‍රණය ධර්ම දානයක් වශයෙන් පිළිගැන්වීමට කටයුතු කළ යක්කල දිමුතු මුද්‍රණාලයටද තුන්වන වරට මුද්‍රණය කළ නුගේගොඩ කොලිටි ප්‍රින්ටර්ස් ආයතනයටද නම් වශයෙන් සඳහන් නොකළත් විවිධාකාරයෙන් අත හිත දුන් සියලුදෙනාටද සංගමය වෙනුවෙන් ස්තූති කරමු. මෙම ප්‍රයත්නයත් ලක්දිව බුදු සසුන බැබළීමට හේතුවක් වේවා ! යි අමාදම් සංගමය වෙනුවෙන් පතන්නේ මෛත්‍රියෙනි.

**උ. ධම්මජීව හිමි**
**නිස්සරණ වනය,**
**මීතිරිගල**

පළමුවන වර 16 අප්‍රේල් 2003
දෙවන වර 25 ජනවාරි 2016
තෙවන වර 30 ජනවාරි 2017

# සතිය

මූලිකව සූත්‍ර පිටකය වශයෙන් වාර්තාගත වී ඇති බුද්ධ දේශනාවේ දක්වෙන කරුණු මත පදනම් වූ සතිය පිළිබඳව විමර්ශනයක් මෙම රචනයෙන් ඉදිරිපත් කරනු ලැබේ.

## 1. සතිය

''සතිය'' යන මේ නාම පදය, සිහිපත් කිරීම යන අර්ථය ගෙන දෙන ''සාරති'' යන පාලි ක්‍රියා පදය හා බැඳේ. මතකය යන අර්ථය ඇතිව සූත්‍ර පිටකයේ කිහිප තැනකදීත්,$_1$ තවද, අභිධර්ම පිටකයේ හා අට්ඨ කථාවල පිළිගත් අර්ථ කථනය ලෙසටත් යෙදී ඇති සතියේ ඇති ගුණයකි ස්මෘතිය$_2$. සතියේ මේ ස්මෘති ගුණයට පරමාදර්ශය සැපයූ, සතිය පිළිබඳ ගෞරවය ඉහළින්ම දිනාගත් ආනන්ද ස්වාමීන් වහන්සේ විසින් ධර්ම සංගායනා අවස්ථාවේදී ආශ්චර්යවත් ලෙස බුද්ධ වචනය - සූත්‍ර ධර්ම මතක් කර දෙන ලද නිසා පශ්චිම ජනතාව වන අප සඳහා ඒවා නොඅඩුව සුරැකුණි$_3$.

සතියේ අර්ථ ඡායාවක් වන මතකය යන්න විශේෂයෙන් අනුස්සති දක්වීමේදී ප්‍රකට කෙරේ. සූත්‍රවල නිතර සඳහන් වන අනුස්සති වර්ග හයකි.

බුද්ධානුස්සති
ධම්මානුස්සති
සංඝානුස්සති
සීලානුස්සති
චාගානුස්සති
දේවතානුස්සති යනු ඒවාය.$_4$

අභිඤ්ඤා ගැන කථා කරන තැන්වල සාමාන්‍යයෙන් සඳහන් වන උසස් සමාධිය තුළින් ලබාගත යුතු, කෙනකුගේ පෙර විසූ කඳ පිළිවෙළ පිළිබඳ මතකය නම් වන පුබ්බේනිවාසානුස්සතිය වනාහි තවත් එවැනි මතක වර්ගයකි. මේ සෑම අවස්ථාවකදීම නැවත මතක්

කර දීමේ කෘත්‍යය ඉටු කරන්නේ සතියයි[5]. සතියේ මෙම නැවත මතක් කර දීමේ කෘත්‍යය සත්‍යාවබෝධයට මග පාදයි. ථෙර ගාථා කථාවකට අනුව එක්තරා භික්ෂුවක් බුදු පියාණන් වහන්සේගේ ගුණ සිහිපත් කිරීමෙන් සත්‍යාවබෝධය සාක්ෂාත් කරගත් බව සඳහන්ව ඇත[6]

මෙම සිහිපත් කර දීමේ කෘත්‍යය හෙවත් ස්මෘතිය, සූත්‍රවලට අනුව ''සතිය'' පිළිබඳ අර්ථ කථනය වශයෙන් දැක්වෙන අතර, එයින් සතියට ආවේණික වූ, බොහෝ කලකට පෙර කළ කී දෑ නැවත සිහියට නගා ගැනීමේ හැකියාව කියවේ[7]. මෙම අර්ථ කථනය සමීපව නිරීක්ෂණය කිරීමේදී සතිය යන්නෙන් මතකය යන අර්ථය ඇත්ත වශයෙන්ම නොදෙන බවත්, ඒ වෙනුවට සතිය මතකයට උපකාර කරන බවත් ඒ සඳහා හැකියාව ලබා දෙන බවත් පැහැදිලි වේ. යථෝක්ත කාරණයට අදාළ සූත්‍ර පාඨයේ සිංහල පරිවර්තනය මෙසේය. ''හෙතෙම ස්මෘතිමත් වූයේ කැපී පෙනෙන ලෙසට උතුම් වූ ස්මෘතියෙන් හා ප්‍රඥාවෙන් සමන්වාගත වෙයි. පෙර කළ දෑ පෙර කියූ දෑ සිහි කරනුයේ පුන පුනා සිහි කරනු වෙයි.''

මෙම විවරණයෙන් දැක්වෙන්නේ, සතිය ඇත්තේ නම් මතකය මනා සේ ක්‍රියා කරන බවයි. මේ ආකාරයෙන් සතිය වටහාගැනීම, වර්තමාන මොහොත පිළිබඳව සාවධාන බව නම් වූ සතිපට්ඨානයෙහි ලා ගැණෙන සතියේ කෘත්‍යය වටහාගැනීම පහසු කරවයි.

මෙලෙසටම, එනම් ''සතිය යනු වර්තමාන මොහොත පිළිබඳ සාවධාන බව කෘත්‍යය කොට ඇත්තේය,'' යන්න පටිසම්භිදාමග්ග පාලි හා විසුද්ධි මග්ග යන ග්‍රන්ථවලද දැක්වෙන අතර, එහි ලක්ෂණය ලෙස දක්වා ඇත්තේ එළැඹ සිටීමයි, උපට්ඨානයයි. මෙලෙස ලක්ෂණය දැක්වීම, සතිය ඉන්ද්‍රිය ධර්මයක් ලෙසටත් ආර්ය අෂ්ටාංගික මාර්ගයේ අංගයක් ලෙසටත් එසේ නැතිනම් මාර්ගයේ අංගයක් ලෙසටත් එසේද නොවේ නම් මාර්ගක්ෂණයේදීත් සමානව දක්වා ඇත[8].

සතිය එළැඹ සිටි අවස්ථාව හෙවත් යෙදී සිටි අවස්ථාව දක්වනු ලබන්නේ **උපට්ඨිත** සති වශයෙනි. ඊට ප්‍රතිවිරුද්ධ පාලි පාඨය

**මුට්ඨස්සති** නම් වේ. සිහි මුළා බව, සිහි කල්පනා මඳ බව එයින් කියැවේ. ඒ අනුව එහි විරුද්ධ අර්ථය වන එළැඹ සිටි සිහිය ඇති බව, සතියේ අර්ථය වශයෙන් දැක්විය හැක්කේය. මේ එළැඹ සිටි සිහි ඇති බව හෙවත් සතිමත් බව, යමකුගේ වර්තමාන මොහොත පිළිබඳ පුළුල් අවදි බව හඟවයි[9]. එළැඹ සිටි සිහිය නිසා කෙනකු කරන කියන දෑ සිතේ පැහැදිලිව සටහන් වෙයි[10]. එම නිසා එය පසුව පහසුවෙන් මතකයට නඟාගත හැකි වන්නේය.

යම් මොහොතක් අමතක නොවන මොහොතක් බවට පත් කිරීමේදී සතිය නැතිවම බැරි දෙයක් වන අතර, පසුව එය මතකයට නගාගැනීම සඳහාද සතිය අවශ්‍යය. මෙලෙස මතක් කරගැනීම සඳහා, ඊට අදාළ මොහොත තැන්පත් බවකින් යුක්ත විය යුතුවාක් මෙන්ම, වික්ෂිප්ත බවෙන්ද දුරුව පැවතිය යුත්තේය. සිහි කටයුතු යමක් කරන මොහොතේදී සිහියෙන් කටයුතු කළ යුත්තේය. සිහිය හොඳින් ක්‍රියාත්මක වන මෙවන් මානසික වාතාවරණයක් තුළ පටු '' එල්ල'' කිරීමක් වෙනුවට, වඩා පුළුල් බවක් ලක්ෂණය වශයෙන් පවත්නේය. මෙම පුළුල් බව, එම මොහොතට එළඹී, තොරතුරු හා අතීත සඤ්ඤා අතර සම්බන්ධීකරණයක් කිරීමට සිතට ඉඩක් සලස්වයි. යම් අවස්ථාවක යමකු යටගිය විශේෂ අවස්ථාවක් හෝ කාරණාවක් මතක් කිරීමට තදින් සිත යොදවයිද, ඒ තාක් එය මතකයට නගා ගැනීමට අපහසු වන අවස්ථාවලදී සතියේ මෙම ගුණය ප්‍රකට වේ. ඒ වෙනුවට අදාළ සිද්ධි හා කාරණාව පසෙක ලා, සිත විවේක වීමට ඉඩ දී සලකා බලන තත්ත්වයට පත් වූ විට හදිසියේම වාගේ එය සිතට නැගේ.

සතිය හොඳින් තහවුරු වූ අවස්ථාවේදී පවතින මානසිකත්වය පටු ''කේන්ද්‍රගත'' බවක් වෙනුවට පුළුල් බවක් ගන්නා බවට ඇතැම් අනුයාත සාධක සමහර සූත්‍රවල දැක්වේ. ඒ අනුව සතිය නොයෙදෙන මනස, අල්ප වූ මනස, **පරිත්ත චේතසා** යයිද එළැඹ සිටි සතිය සහිත සිත, ප්‍රමාණ රහිත මනස, **අප්පමාණ චේතසා** යයිද දැක්වේ[11].

සිතේ ''පුළුල් බව'' යන මේ අර්ථ ඡායාවට අනුව, සතිය වනාහි දී ඇති තත්ත්ව යටතේ විවිධ වූ මූලාශ්‍ර හා මුහුණත් සිත තුළ එක විට නඩත්තු කරගෙන යෑමේ හැකියාව ලෙස දැක්විය හැක. මේ ගුණය

එළැඹ සිටි මොහොතේ මතකය පිළිබඳව කටයුත්ත හා සාවධාන බව යන කෘත්‍ය දෙකේම යෙදේ. මෙයට අදාළ සුත්ත නිපාතයේ සමහර ගාථාවල බුද්ධානුශාසනයට අනුව සතිමත් වීමට අවවාද කොට ඇත[12].

සතිය පිළිබඳව තවත් විස්තර, එය යෙදෙන ධර්ම කොට්ඨාශවල සතිය රඟපාන භූමිකාව හා එහි ස්ථානගත වීම සලකා බැලීමෙන් මතු කර ගත හැකිය. (අංක 01 සටහන බලන්න.)

ආර්ය අෂ්ටාංගික මාර්ග ධර්ම කොට්ඨාශයේදී සතිය, සම්මා සතිය වශයෙන් හුදු මාර්ගයක් වනවා පමණක් වුවත්, ඉන්ද්‍රිය ධර්ම හා බල ධර්ම කොටස් අතර මධ්‍යස්ථ පිහිටීමක්ද බොජ්ඣංග ධර්ම ලැයිස්තුවේ මුල්ම ස්ථානයද හොබවයි. මෙම සම්බන්ධතාවලදී සතිය ඉටු කරන කෘත්‍ය වශයෙන්, එළඹ සිටි මොහොත පිළිබඳව සාවධාන බව මෙන්ම, මතක් කර දීමේ කෘත්‍යයද දැක්වේ[13]. පහත සටහනේ දැක්වෙන ලෙසට සතිය විවිධ සම්බන්ධතා මෙන්ම විවිධ ආකාරද අනුව පුළුල් පරාසයක යෙදේ. ඇත්ත වශයෙන්ම බුදුපියාණන් වහන්සේ සතිය ඕනෑම තත්ත්වයක් යටතේ වැඩදායක බව වරෙක දේශනා කළ සේක[14].

**අංක 01 සටහන - විවිධ ධර්ම කොට්ඨාශ අතර සතියේ පිහිටීම**

| **ඉන්ද්‍රිය ධර්ම හා බල ධර්ම** | **ආර්ය අෂ්ටාංගික මාර්ගය** | **බොජ්ඣංග ධර්ම** |
|---|---|---|
| සද්ධා | සම්මා දිට්ඨි | **සති** |
| විරිය | සම්මා සංකප්ප | ධම්මවිචය |
| සති | සම්මා වාචා | විරිය |
| සමාධි | සම්මා කම්මන්ත | පීති |
| පඤ්ඤා | සම්මා ආජීව | පස්සද්ධි |
| | සම්මා වායාම | සමාධි |
| | සම්මා සති | උපේක්ඛා |
| | සම්මා සමාධි | |

ඉන්ද්‍රිය ධර්ම හා බල ධර්ම අතර සතිය මධ්‍යස්ථ ස්ථානයක් ගනී. මෙම සම්බන්ධයේදී සතිය ඉතිරි ඉන්ද්‍රිය ධර්ම හා බල ධර්මවල අඩු වැඩිකම් සලකා සමතුලනය කිරීමත් හැසිරවීමත් තම කෘත්‍යය වශයෙන් කරයි. ඉන්ද්‍රිය ධර්ම හා බල ධර්ම අතර සතිය කරන මෙම සොයා බැලීමේ මෙහෙවරට සමාන මෙහෙවරක්, ආර්ය අෂ්ටාංගික මාර්ගයේදී සමාධි ස්කන්ධ ධර්ම තුන මැද ස්ථානයක් ගනිමින් සතිය ඉටු කරයි. එසේ නමුත් මේ සොයා බැලීමේ මෙහෙවර උක්ත සම්මා වායාම, සම්මා සමාධි යන අංශ දෙකට පමණක් සීමා වී නැත. එසේ කිරීමට හේතුව වනාහි මහාචත්තාරීසක සූත්‍රයට අනුව, සම්මා සතියේ අවධානය අනෙකුත් මාර්ගාංගවලටද අවශ්‍ය කරන ධර්මයක් යයි දක්වීමය.[15]

ආර්ය අෂ්ටාංගික මාර්ගයේදී සතිය අසල්වැසි මාර්ගාංග දෙක සම්බන්ධයෙන් අතිරේක මෙහෙයක්ද ඉටු කරයි. එනම් සම්මා වායාම සම්බන්ධයෙන් කර දෙන ආරක්ෂක කෘත්‍යයයි. එය ඉන්ද්‍රිය සංවර කිරීම් වශයෙන් අකුසල් චෛතසික පහළ නොවීමට වග බලාගන්නා අතර, මෙම සම්බන්ධතාවේදී එය සම්මා වායාමයේ අංගයක් බවට පත් වේ. සම්මා සමාධිය හා සම්බන්ධව මනාව තහවුරු වූ සතිය සිතේ ගැඹුරු දියුණුවකට හා ගැඹුරු සමාධියක් පහළ වීමටත් වැදගත් පදනමක් සපයයි. මේ සම්බන්ධයෙන් වැඩි දුර විස්තර පසුවට බලාපොරොත්තු වන්න.

වීර්යයටත් සමාධියටත් අතරමැද ''සමීපාවචර'' චෛතසිකයක් ලෙස සතියේ මෙම පිහිටීම ඉන්ද්‍රිය ධර්ම සහ බල ධර්ම කොටස්වලදී දැකිය හැක. සතිපට්ඨාන සූත්‍රයේදී සතිය පිළිබඳ මෙම චෛතසික දක්වීමේදී විරිය චෛතසිකය **ආතාපි** = කෙලෙස් තවන බව ලෙසටද සමාධි චෛතසිකය **විනෙය්‍ය ලොකෙ අභිජ්ඣා දොමනස්සං** = දැඩි ආසාව හා දොම්නස් නැති බව ලෙසටද දක්වා ඇත[16]. මෙලෙස සතිය සෑම තැනදීම වීර්යය හා සමාධිය යන චෛතසික දෙක අතර පිහිටුවා දක්වීමෙන් සතියේ අභිවෘද්ධිය ක්‍රමික වර්ධනයක්, අනුපූර්ව වර්ධනයක් ලෙස සිදු වන ආකාරය පෙන්වයි. ඒ අනුව, සතියේ තරුණ අවස්ථාවට හෙවත් ආරම්භක අවස්ථාවට බාධක වන ධර්ම දුරු කිරීමේ දැඩි වීර්යයක අවශ්‍යතාව ඇත. මෙසේ

බලවත් වූ සතිය වඩාත් බලවත් ලෙස සමාධිගත වූද සන්සුන් වූද මානසිකත්වයක් ඇති කරවන බවත් දක්වයි. මනාව තහවුරු වූ භාවනා අවස්ථාවක් ගෙන හැර පෑමේදී සූත්‍ර ධර්මවල මෙය නිතර සඳහන් වේ[17]. මෙලෙස බලවත් වූ භාවනා අවස්ථාවලදී අපක්ෂපාතී වන සතිය හෙවත් සුපතිට්ඨිත සතිය, අගති විරහිතව නිරුපද්‍රැතව සිය නිරීක්ෂණය කරගෙන යයි.

ඉන්ද්‍රිය ධර්ම හා බල ධර්ම අතර මෙන්ම ආර්ය අෂ්ටාංගික මාර්ගයේ සමාධි ස්කන්ධ ධර්ම අතරද සතිය මැද ස්ථානයේ කටයුතු කරන අතර, බොජ්ඣංග ධර්මවල එයට හිමි වන්නේ මුල් තැනයි. එහි ලා සතිය අනෙකුත් බෝධි අංග ධර්ම සඳහා පදනම සලසයි.

ඉන්ද්‍රිය ධර්ම හා බල ධර්ම කොටස් අතර මෙන්ම ආර්ය අෂ්ටාංගික මාර්ග ධර්ම අතරද සතිය තෙමේ වීර්ය සමාධි, ප්‍රඥා වැනි අනෙකුත් ධර්ම අතුරින් කැපී පෙනෙන ලෙස වෙන්ව සිටගනී. එම නිසා වෙනමම ධර්මයක් ලෙස ලැයිස්තුගත වී ඇත. [18] මෙලෙස ධම්මවිචය සම්බොජ්ඣංගයෙන් වෙනස් වන බැවින් සති සම්බොජ්ඣංගය හෙවත් සතිය, ධර්ම කරුණු සෝදිසි කර බැලීම හෙවත් විමසා බැලීම සිය කෘත්‍යය වශයෙන් ඉටු කරන්නේ නැත. එසේ නොමැති නම් ධම්මවිචය සම්බොජ්ඣංගය වෙනමම සංග්‍රහ කිරීමට හේතුවක් නොමැත. කරුණු එසේ වුවද, ආනාපාන සති සූත්‍රයට අනුව බොජ්ඣංග එකකට එකක් අනුගාමීව, එනම් එළඹ සිටි සතියට අනුගාමීව ධම්මවිචය පහළ වීම දක්වන බැවින් සතියේ ක්‍රියාකාරකම් ධම්මවිචයට බලපාන බව පෙනේ.[19]

ආර්ය අෂ්ටාංගික මාර්ගයෙහි එක් අංගයක් වන සම්මා සතිය ගැන කථා කිරීමේදී, සතිය ''සම්මා'' යන පදයෙන් විශේෂණ වී තිබීම සැලකිය යුත්තකි. [20] මාර්ගාංගයක් ලෙස දක්වෙන සතිය හෙවත් සම්මා සතිය අනෙකුත් අවස්ථාවල දක්වෙන සති චෛතසිකයෙන් ගුණාත්මක වශයෙන් වෙනසක් මෙහි දැනවෙන අතර, එම වෙනස නොවැදගත් ලෙස හෝ අහම්බයක් ලෙස සලකනු නොවටී. බොහෝ සූත්‍රවල සතියේම විශේෂිත ආකාරයක් ලෙස මෙන්ම සම්මා සතියට ප්‍රතිපක්ෂ ධර්මය ලෙස මිච්ඡා සතිය සඳහන්ව ඇත.[21]

මණිභද්ද සූත්‍රයේදී බුදුපියාණන් වහන්සේ, සතිය ඊටම ආවේණික විවිධ ගුණ සහිත වුවද හුදු සතියෙන් පමණක් වෛරය ජයගත නොහැකි බව දේශනා කොට ඇත. [22] මේ අනුව අකුසල් චෛතසික ජයගැනීමෙහි ලා සතියට අමතර වූ තවත් චෛතසික අවශ්‍ය කරන බව පෙනේ. කෙසේ නමුත් මෙම රචනයෙන් බලාපොරොත්තු වන්නේ සතිය අනෙකුත් චෛතසිකවලින් වෙන් කොට නිර්වචනය කිරීමක් නිසා, සතියේ ප්‍රධාන ලක්ෂණ වෙන් කොට හඳුනාගැනීම සඳහා අනෙකුත් චෛතසිකවලින් හුදෙකලා කොට තනිව සලකා බලනු ලැබේ.

## 2. සති නිරූපණය - පිළිබිඹුව

සූත්‍ර පිටකය විවිධ උපමා අලංකාර හා වර්ණනා යොදමින් සතිය නිරූපණය කොට ඇත. මේවා විමර්ශනය කිරීමෙන් සහ ඒවායින් පිළිබිඹු කරන කරුණු උකහාගැනීමෙන්, බුදුපියාණන් වහන්සේ හා සමකාලීනයන්ද එදා සතිය යන පදය තේරුම්ගත් ආකාරය පිළිබඳ වැඩි විස්තර ලබාගත හැක්කේය.

ද්වේධාවිතක්ක සූත්‍රයේ දක්වෙන ගෝපාලක උපමාවට අනුව, පැසුණු ශස්‍ය භෝග සහිත කෙත් යායකට ගව රැළ නොබසින ලෙසට ගෝපාලකයා බලා කියාගත යුතු වේ. එහෙත් අස්වැන්න නෙළාගත් පසු ගෝපාලක තෙමේ ගසක් මුල වාඩි වී විවේකීව ගත කරමින් ගව රැළ බලයි.[23]

මෙම දුරස්ථ වූත් විවේකී වූත් බැලීම සතිය නිරූපණය කරයි. මෙම උපමාවේ දක්වෙන හැසිරීම් රටාව වඩාත් ලිහිල්ව නිවිච්ච ස්වභාවයක් දක්වයි. මෙවන් දුරස්ථ මෘදු නිරීක්ෂණයක් ලෙස කරන සතිපට්ඨාන භාවනාව, ථෙර ගාථාවකට අනුව උස් කුලුනකට නැගීමක්, උස් වේදිකාවක් මතට නැගීමක් හා සම කර දක්වා ඇත. [24] කාම ප්‍රවාහවල ඇලී ගැලී ගත කරන ස්වභාවයෙන් හාත්පසින් වෙනස් වූ බවක් මෙම කුලුනු උපමාවෙන් අඟවන අතර, එමගින් දුරස්ථ වූත් මධ්‍යස්ථ වූත් බැලීමක් හුවා දක්වයි. වල් අලියකු හීලෑ කිරීමේ ක්‍රියාවලියකට සතිපට්ඨාන භාවනාව සම කොට දක්වන

දන්තභූමි සූත්‍රය මෙම දුරස්ථ වූ ස්වභාවය නැවතත් අපට මතක් කර දෙයි. යම් සේ අලුතින් අල්ලාගන්නා ලද අසංවර අලියකු උගේ වල් ගතිය දුරු කිරීම සඳහා ක්‍රමයෙන් හීලෑ කළ යුතු වන්නේද, එසේම සතිපට්ඨානය, භික්ෂුවක් තම ගෘහාශ්‍රිත ජීවිතයෙන් හා ඒ හා සම්බන්ධ මතකයෙන් ටිකෙන් ටික ඈත් කරවයි. 25

තවත් උපමාවකට අනුව සතිය ''එසණී'' - කූරකට සමාන කොට දැක්වේ. 26 ශල්‍ය වෛද්‍යවරයා තුවාලය පිළිබඳ වැඩි විස්තර ලබාගැනීමට කූර භාවිත කරන අතර, මතු ප්‍රතිකාර සඳහාත් එය යොදාගන්නේ යම් සේද, එසේම සතිය ඇති සැටිය මතු කරගැනීමටත් එමගින් මතු යම් පිළියම් සඳහා හොඳ පසුබිමක් සකැසීමටත් උපකාරී වේ. වෙනත් නිදර්ශනයක සතිය ගොවියාගේ හී වැල හෙවත් නගුල් එලකයට හා කෙවිටට උපමා කොට දැක්වේ27. මෙම උපමාව මගින්, ගොවිරාල කෙවිට ආධාරයෙන් හීය අඛණ්ඩව හසුරුවාගෙන යන අතර අම්බරුවන් හී පාර දිගේ ඉදිරියට යන බවත්, හී වැල හෙවත් නගුල් දත මේ අතරවාරයේ පොළොව පසාරු කරගෙන කඩාගෙන යමින් අමු පස මතු කරලන බවත් අර්ථවත් වෙයි. මේ මගින් පැළපත ගොයමට සරිලන සේ කෙත කල් ඇතිව සූදානම් කෙරෙයි. එසේම සතිය අඛණ්ඩ මනසිකාරයේ (මනස) පවත්වයි නම්, එම අවස්ථාවේ අරමුණු පිළිබඳව ''කිඳා බැස'' බැලීමට අවබෝධය ඉඩ ලබයි. අරමුණේ හෙවත් වර්තමාන සංසිද්ධියේ නොපෙනෙන සැබෑව (ත්‍රිලක්ෂණය) මතු කර දෙයි. මතු ප්‍රඥා බීජ වර්ධනයට ඉඩ සලසයි28.

සතියේ ප්‍රධානම ලක්ෂණ වෙන් කොට හඳුනාගැනීම සඳහා මෙහිදී එය අනෙකුත් චෛතසිකවලින් හුදකලා කොට තනිව සලකා බලනු ලැබේ.

අනෙකුත් කොටස් හා භාවනා චෛතසික ධර්ම ගළපමින් දක්වන තවත් උපමාවකට අනුව, ප්‍රඥාව පහළ වීමට උපකාරක ස්වභාවයෙන් සතිය ක්‍රියා කරන ආකාරය දක්වා ඇත. එහි ලා සතිය සංසන්දය කොට ඇත්තේ ඇතාගේ හිස දරා සිටින ගෙලටය. එහිදී හිස යනු ප්‍රඥාවයි.29

බුදුපියාණන් වහන්සේගේ ගුණයක් වන්නා වූද ඇතාට ආවේණික දෙයක් වූද ''හත්ථි විලෝකනය'', පැත්ත බලන විට හිස පමණක් නොහරවා මුළු ශරීරයත් සමගම හැරීම නම් වූ ගුණය නිසා මෙම ගෙලේ උපමාව වඩාත් අර්ථවත් වෙයි.[30] ඇත් හිස මෙන් යමකට මුළු අවධානයම යෙදවීම, මුළු හිතින්ම කිරීමට සැලැස්වීම යන ගුණයෙන් සතිය යුක්ත බව මෙයින් කියැවේ.

ඇත් බැල්ම වනාහි බුදුපියාණන් වහන්සේටම ආවේණික ගුණයකි, එළඹ සිටි කාරණයට අඛණ්ඩ වූත් සම්පූර්ණ වූත් අවධානය යෙදීම සියලුම රහතන් වහන්සේලාට පොදු ලක්ෂණයකි. [31] එය රථ රෝදයක එකම අරයකට සතිය උපමා කරන වෙනත් උපමාවක් මගින් ගෙනහැර දක්වා ඇත. [32] ඒ අනුව ඉදිරියට ඇදෙන රථයකට උපමා කොට රහතන් වහන්සේගේ කායික ක්‍රියාකාරකම් දක්වන අතර, ඒ ක්‍රියාකාරකම් සියල්ල රථ රෝදයේ එළඹී බර දරන එකම අරය මෙන් වූ සතියේ උපකාරයෙන් සිදු වේ.

සුත්ත නිපාත ගාථා ධර්මයක් ප්‍රඥාවේ වර්ධනය සඳහා සතියේ උපකාරය නැවතත් හුවා දක්වයි. සතිය ලෝකයේ ඇති විවිධ ''ධාරා'' මඬින්නක් ලෙසට එහි දක්වා ඇත. මෙලෙස මැඬලීම නිසා ප්‍රඥාවෙන් ඒවා කපා හැරීම පහසු වේ. සතියේ ඇති ඉඳුරන් හික්මවීමේ කෘත්‍යය නිසා ප්‍රඥාවේ මූලික පදනම සකැසෙන බව මෙයින් ප්‍රකට වේ.[33]

මෙසේ ශල්‍ය වෛද්‍යවරයාගේ කූර, නගුල් එලකය, ඇත් ගෙල, ධාරා මැඬලීම ආදී උපමා රූපකවලින් කියැවෙන පොදු ලක්ෂණය වන්නේ විපස්සනාව සඳහා සතියේ ඇති, සූදානම් කරදීමේ කෘත්‍යයයි. ඒ අනුව ප්‍රඥාවට මග පාදන චෛතසිකය ලෙස සතිය දැක්වේ. [34]

සංයුක්ත නිකායේ වරෙක සතිය රථාචාර්යවරයකුට උපමා කොට ඇත. [35] එය ඉන්ද්‍රිය ධර්ම හා බල ධර්ම අතර සතියට ඇති සොයා බැලීමේ කෘත්‍යය හා හැසිරවීමේ කෘත්‍යය සිහියට නංවයි. එය සුපරීක්ෂාකාරී බව හා මධ්‍යස්ථ බැල්මක් යන ගුණ මතු කර දක්වයි. සතියේ මෙම සමබර කිරීමේ ගුණය ඉතාමත් විචිත්‍ර ලෙස පෙන්වන

තවත් උපමාවක සතිය සමාන කොට දක්වන්නේ කට මට්ටමට තෙල් පුරවන ලද භාජනයක් හිසින් ගෙන ගමන් කරන්නකුටය.[36]

තවත් නිදර්ශනයකට අනුව සතියේ ස්මරණ ගුණය හා සුපරීක්ෂක භාවය නගරයේ ප්‍රධාන දොරටු පාලකයාට සමාන කර ඇත. [37] එහිදී රජතුමා වෙත ඔප්පු කළ යුතු පයිණ්ඩයක් සහිත දූතයකු නගරද්වාරයට ළඟා වන ජවනිකාවක් ගෙන හැරපායි. එහිදී දොරටු පාලකයාගේ රාජකාරිය වන්නේ රජතුමා බැහැදැකීමට ගිය හැකි ඉක්මන්ම මග දැක්වීමයි. වෙනත් තැනෙක මෙසේම දොරටු පාලකයාගේ ප්‍රතිරූපය නගරාරක්ෂාව හා සම්බන්ධ කොට දක්වා ඇත. එම උපමාවේදී නගරයේ බළ හමුදාව වීර්යයයි. ප්‍රඥාව කොටු තාප්පයයි. සතිය නමැති දොරටු පාලකයාගේ කාර්යය වන්නේ නියම අව්‍යාජ නගර වැසියා හඳුනාගැනීමත් ඔහුට ඇතුළු වීමට ඉඩ ලබා දීමත්ය. [38] මේ උපමා උපමේය දෙකෙන්ම, සතිය එළැඹ සිටි අවස්ථාවේ පවතින තත්ත්වය මනාව ඉස්මතු කොට දක්වේ.

මෙයින් දෙවැන්න, ඉන්ද්‍රිය සංවරය හා සම්බන්ධව සති මාත්‍රය ඉටු කරන හික්මවීමේ මෙහෙවර ඉස්මතු කරයි. [39] යට දැක්වූ සතිය සතු ලෞකික සැඩ පහරවල් මෙල්ල කිරීමේ කෘත්‍යය මේ දෙවන උපමාවෙන්ද සිහිපත් කෙරේ. දොරටු පාලකයකු ඇති නිසා අනවසරයෙන් නගරයට ඇතුළු වීමට ඉඩක් නොලබන්නා සේ, සතිය එළඹ සිටි විට ඉන්ද්‍රිය ද්වාරවල ප්‍රතික්‍රියා හා අකුසල් චෛතසික පහළ වීමට අවසරයක් නොලබන අයුරු පෙනේ. සතිය එකම ආරක්ෂාව - **ඒකාරක්ඛො** - බව සඳහන් වන තවත් පාඨයක්ද සතියේ මෙම ආරක්ෂක භූමිකාව අවධාරණය කරයි.[40] එමෙන්ම සිතිවිලි හා චේතනා විෂයෙහි අධිපතිකමද සතියේ ගුණයකි. [41]

අංගුත්තර නිකායේ දැක්වෙන සූත්‍රයකට අනුව සතිපට්ඨාන හතර පිළිබඳ යථාභූත දැනීම, ගෝපාලකයා තම ගව රැළට අවශ්‍ය ගෝචර භූමිය පිළිබඳව දක්වන දක්ෂ බව හා සම කොට දක්වා ඇත.[42] මෙම නිදසුන මහා ගෝපාලක සූත්‍රයේදීද හමු වේ. සතිපට්ඨාන භාවනාවේ වැදගත්කම, මෙම ධම්ම - විනය වෘද්ධි භාවයට, විපුල භාවයට පත් කර ලීමට ආධාරයක් ලෙසට හුවා දක්වා ඇත[43]. සූත්‍ර

පිටකයේම වෙනත් තැනක, දඩයම්කරුවන් හක්කලං ගසන (සැරිසරන) ස්ථානවල වඳුරන් නොගැවසී මගහරින ස්වභාවය දැක්වීමෙන්, යෝගාවචරයා ඉදින් ආරක්‍ෂා වීමට කැමති නම්, තම හැසිරීම ගෝචර භූමියට පමණක් සීමා කළ යුතු බව මතක් කර දෙයි. එසේම මාර්ග ප්‍රඥාව කැමැති යෝගාවචරයා තමාගේ ගෝචර භූමිය ලෙස සතිපට්ඨානයේම හැසිරිය යුතු බව දක්වයි. මේ නිරූපණය මගින්, සති මාත්‍රයේ ඇති අරමුණු අල්ලාගැනීම සම්බන්ධව පැවතිය යුතු[44] සංවරය ඉස්මතු කොට දැක්වේ. අගෝචර භූමි ලෙස, පර විෂය ලෙස, යට ඡේදයේ දැක්වෙන්නේ කාම සුඛයයි. ඒ අනුව ගෝචර භූමිය සතිපට්ඨානයයි.[45]

සයාකාර ඉන්ද්‍රියවලට ආපාතගත වනසුලු විවිධ මෝහනීය අරමුණු ඉදිරියේ සුපතිට්ඨිත සතිය දක්වන නොසැලෙන බව, විවිධ වල් සතුන් සයදෙනකු බැඳ ඇති, පොළොවේ සිටවූ කුලුනකට තවත් තැනක උපමා කොට දක්වා ඇත.[46] මෙවන් සුපතිට්ඨිත සතියක් පුහුණු කොට නැති, කම්පා නොවන ගතියක් නැති, සතිපට්ඨාන භාවනාවේ විශේෂයෙන් ආරම්භක අවස්ථාවේ පසු වන යෝගාවචරයාගේ සිත ඉතා ඉක්මනින් කාම අරමුණුවලට ගොදුරු වීම නොවැළැක්විය හැකි දෙයකි. මාතුම සූත්‍රයේදී පිණ්ඩපාතයේ වඩින භික්‍ෂුන් වහන්සේ නමක් මෙලෙස මනා ලෙස පිහිටි සතියක් හෝ ඉන්ද්‍රිය දමනයක් නොමැතිව පිටතට වැඩීමේ සිද්ධියක් වාර්තා වේ. විනීත ලෙස සභ්‍ය ලෙස හැඳ පැළඳ නොගත් කාන්තාවක් මුණ ගැසීමෙන් දැඩි කාමාසාව පහළ වීම නිසා භාවනාවේ උකටලී වූ එම භික්‍ෂුව එයින්ම සිවුරු හැර ගිය සිද්ධියක්, අසතිමත් බවේ ආදීනව දැක්වීමක් ලෙසට වාර්තා වේ.[47]

## 3. සතියේ ලක්‍ෂණ හා රස

සතිපට්ඨාන සූත්‍රයේ ඉදිරිපත් කොට ඇති අනුශාසනා සැලකිල්ලෙන් පරීක්‍ෂා කිරීමේදී, මනසට එන දේවලට හරස් කැපීමට යෝගාවචරයාට කිසිම තැනක උපදෙස් දී නැති බව පෙනේ. මැදිහත් වීමක්ද අනුමත කර නැති බව පෙනේ. සිතේ කිසියම්ම නීවරණ ධර්මයක් පැන නගී නම්, සතියේ කර්තව්‍යය වන්නේ එම බාධක ධර්මය ඇස් පනාපිට මූණට මූණ ලා දැකගැනීමයි. එහි නිරුද්ධ වීමකට

කෙසේ මග පෑදේදැයි දැනගැනීමයි. ඊට එහා ගිය සක්‍රිය දායකත්වයක් සතියට අයිති නැත. ඇත්ත වශයෙන්ම එය සම්පජඤ්ඤයේ විෂය ක්ෂේත්‍රයයි.

බුද්ධ දේශනාවට අනුව, දැනගත යුතු ඉතාමත් වැදගත් කාරණය වන්නේ, මූලික නිරීක්ෂණ අවධිය හා ඒ අනුව ක්‍රියාත්මක වීමේ අවධිය හඳුනාගැනීමයි. [48] මෙහි ලා සරල සහ ඍජු කාරණය වන්නේ, කිසියම් සංසිද්ධියකදී අදාළ නිසි පියවර ගැනීමට කෙනකුට දක්ෂ භාවය ලැබෙන්නේ ''මුලින්ම එය ඉතා සමීපව නිරවුල්ව නිරීක්ෂණය කළ හැකි විට පමණි'' යන්න වටහාගැනීමෙන්ය යන කරුණයි.

මෙලෙසට සතිය සම්‍යක් ව්‍යායාමය සඳහා යොමු කරවීමට අවශ්‍ය තොරතුරු සම්පාදනය කරන නමුත්, පවතින අඩු වැඩිකම් පිළිබඳ තුලනය කිරීමක් තුළින් පිළියම් පිළිබඳව සොයා බලන නමුත්, තමා වශයෙන් මධ්‍යස්ථව මෑතකට වී සිට නිරීක්ෂණය කිරීමේ තම ගුණය රැකගෙන සිටී. තමාට වඩා ක්‍රියාශීලි වෙනත් චෛතසික සමග පෑහී අන්‍යොන්‍ය ලෙස බලපාමින් කටයුතු කිරීමේ හැකියාව සතියට ඇතත්, සතිය කෙළින්ම මැදිහත් වීමක් නොකරයි. [49]

එලෙස නොපටලැවෙන ලිහිල් ''සුබග්‍රාහී'' ලක්ෂණයක් සතිය සතුව පවතී. සතියේ කාර්යය වන්නේ සිදුවීම පිළිබඳව හුදෙක් දැනුවත් කිරීමයි. නොඑසේම, ඒවා දුරු කිරීම නොවේ. නිහඬව නිරීක්ෂණය කරන්නේ ප්‍රේක්ෂකයකු ක්‍රීඩා තරඟයක් බලන්නා සේය. මැදිහත් වීමක් එහි නැත. [50] මෙවන් නිශ්ශබ්ද නිරීක්ෂණයකට අකුසල් ධර්ම මැඬලීමට පවා හැකි වන නිසා, එළඹ සිටි සිහිය ඉතා ප්‍රබල ආනිශංස ගෙන දේ. [51] එසේ වන නමුත් එහි කෘත්‍යය '' වියුක්ත'' වූ නිරීක්ෂණයකට සීමා වේ. සතිය අත්දැකීම වෙනස් නොකරයි. ඒ වෙනුවට එය ගැඹුරු කරවයි.

නැග එන්නා වූ ප්‍රතික්‍රියා මෙන්ම පෙළඹීම්ද පැහැදිලිව දැකගැනීමට නම්, මෙම මැදිහත් නොවනසුලු ගුණය සතිය තුළ තිබිය යුතුය. මොන යම් අයුරකින් හෝ මැදිහත් වීමකට, බාධා කිරීමට, ප්‍රතික්‍රියාවකට යමකු පෙළඹේ නම්, සතියේ මෙම වියුක්ත ගුණය

එපමණකින්ම වහාම නැසී යයි. සතියේ මෙම වියුක්ත ලිහිල් සුබග්‍රාහී ලක්ෂණය අනුව කෙනකුට තමා ඉදිරියට එන සංසිද්ධියෙන් මඳක් වෙන් වී එය දකගත හැකි වීම නිසා, තමාගේ ආත්මගත මැදිහත් වීම අපක්ෂපාතීව නිරීක්ෂණය කළ හැකි වනවා මෙන්ම, ඔහු මුළු සංසිද්ධියෙන්ම මුක්තව සිටීමටද හැකියාව ලබන්නේය. මෙම වියුක්ත පරාසය වඩාත් විෂයමූලක දැකීමකට මග පාදන අතර, මේ තුළින් ඉහත දැක්වූ කුලුනක් මුදුනට නැග බලන බැලීම අර්ථවත් කෙරේ.

සතිපට්ඨානයේ මෙම ''විසංගත'' මෙන්ම සුබග්‍රාහී හැසිරීම, ප්‍රතික්‍රියා කිරීමක් හා ප්‍රතික්ෂේප කිරීමක් යන අන්ත දෙක මගහරවා මධ්‍යම ප්‍රතිපදාව පාදා දෙයි.[52] යෝගාවචරයාට සිය සාවධාන හැසිරීම ඉදිරියේ තමාගේ අඩුපාඩු හා අසාධාරණ ප්‍රතික්‍රියා හෙළිදරවු වන්නේ ස්වකීය ආත්ම ප්‍රතිරූපය පිළිබඳ ආවේණික ළබැඳියාවට පීඩා නොවන සේය. මෙලෙස එළැඹ සිටි සිහිය පවතින විට ඉහළ මට්ටමේ දැනුම් පරස්පරතා ඉවසා සිටීමේ හැකියාව ඇති වෙයි. ස්වකීය අඩුපාඩු හා දුර්වලතා දැකීමේදී, සාමාන්‍යයෙන් ඉබේටම වාගේ අමිහිරි වේදනා අඩු කරලීමේ ප්‍රයත්නයකට හෝ ඒ සම්බන්ධ තොරතුරු විකෘති කර දැක්වීමකට හෝ අපි පෙළඹෙමු. එහෙත් සතිය සතු වඩාත් විෂයමූලක වූ ලිහිල් දර්ශනයකට නැමෙන නැම්ම, අගතිගාමී නොවූ අවිධිමත් වූ ස්වයං නිරීක්ෂණයකට දොර කවුළු විවෘත කර දෙයි. මෙම මධ්‍යස්ථ අවිධිමත් ස්වභාවය, සතියේ නෛසර්ගික ගුණය, **ඛිඩ්ඩාපදොසිකා** නම් දේව නිකායට සම්බන්ධ කොට දක්වන විවරණයක දැක්වෙන්නේ මෙසේය: එම ඛිඩ්ඩාපදොසිකා නම් දෙවියන් කාම ගුණ - කාම ක්‍රීඩාවල මත් වූ කල්හි ඔවුන්ගේ සතිය ගිළිහී යයි. එලෙස අසතිමත් වීමේ ආදීනව ලෙස ඔවුහු එම දේව නිකායෙන් චුතව පහත් නීච භාවයකට පත් වෙති.[53] මෙයට ප්‍රත්‍යක්ෂ සාක්ෂියක් දක්වන තවත් සූත්‍රයකට අනුව, ප්‍රමාදී භික්ෂුවක් පහත් දේව නිකායක ප්‍රතිසන්ධිය ලැබ සිහිය එළැඹ සිටි කල, වහාම උසස් දේව ලෝකයකට පත් වේ.[54] මේ සංසිද්ධි දෙකට අනුව, සතිය සතු ඥානය හා ගුණය දියුණු කරන ස්වභාවයත් ආනිසංසයත් හෙළි වේ.

සතිය වනාහි ''මනසිකාරය'' නම් චෛතසිකයට සමීපචාරීය. අභිධර්ම විවරණයට අනුව එහි මූලික ලක්ෂණය වනුයේ සියලුම

සිත්වල යෙදී පැවතීමයි. [55] තම අධිකාරිය වශයෙන් මෙම මනසිකාරය නම් වන සාමාන්‍ය සිත යොමු කරවීම, (හඳුනාගැනීමටත් වෙන් කොට දැනගැනීමටත් මනෝභාව නැඟීමටත් කලින්) අරමුණ සැලකීමේ ගුණාංගය විදහා දක්වයි. සතිය වනාහි මෙම ප්‍රථම සලකා බැලීම ඉක්මවා ගිය දියුණුවක්, වර්ධනයක් ලෙස දක්විය හැක. ඒ අනුව අති ක්ෂණික වූ මනසිකාරය හෙවත් අවධාන මාත්‍රය වඩාත් ගැඹුරු වී පැහැදිලි වීමක් සතිය මගින් සැලසෙයි. [56]

සතිය හා මනසිකාරය යන චෛතසික දෙකේ ඇති දළ වශයෙන් සමාන චර්යාව, සතිපට්ඨාන හා යෝනිසෝ මනසිකාරය යන දෙක අතර ඇති සමානතාවට කීප අතකින් සමාන බවක් දක්වයි. එහි ලා නීවරණ ධර්මවලට ප්‍රතිපක්ෂ ධර්ම දෙසට අවධානය යොමු කරවීමත් පඤ්ච උපාදාන ස්කන්ධවල හා අරමුණුවල අනිත්‍යතාව පිළිබඳ සාවධාන බව ඇති කර වීමත් බොජ්ඣංග ධර්ම තහවුරු කර ලීමත්, චතුරාර්ය සත්‍යය නුවණින් මෙනෙහි කිරීමත් යන කරුණු යෝනිසෝ මනසිකාරය සම්බන්ධයෙන් දක්වා ඇති අවස්ථා සූත්‍රවල හමු වේ. [57]

මනසේ ඇති ඉබේ කෙරෙන පුරුදු හෙවත් ඇබ්බැහි අනුව යමින් කෙරෙන කටයුතු බැහැර කරලීම සම්බන්ධයෙන්, සතියේ මෙම **අවධාන මාත්‍රය** නම් වන චර්යාව වැදගත් වේ. කෙනකුට තම ඉබේ කෙරෙන ක්‍රියා, ප්‍රතික්‍රියා හා උපකල්පනවලින් සිත බේරාගෙන ඇත්ත ඇති සැටියෙන් දැකගැනීමේ හැකියාව සති මාත්‍රය තුළින් ලැබෙන්නේය. ඉන්ද්‍රිය ඥානයටම මුළු අවධානය යොමු කෙරෙන නිසා ඉබේට මෙන් පුරුද්දට මෙන් කරන ප්‍රතිචාර පිළිබඳ තොරතුරු අනායාසයෙන්ම හෙළි වේ. සිතේ මුල් බැසගෙන ඇති හානිකර පුරුදු හා නරක ගති වෙනස් කර ලීමේ මුල්ම පියවර ලෙස, මෙම ඉබේ කෙරෙන ප්‍රතිචාර දැක දැනගැනීම අත්‍යවශ්‍යය.

සතිය සතු මෙම ''හුදු අවධානය'' ඉඳුරන් සංවර කිරීමේදී විශේෂයෙන් වැදගත් වේ. අනුක්‍රමයෙන් වැඩෙන මෙම වැඩ පිළිවෙළේදී ආදිකම්මික යෝගාවචරයා මුලින්ම සයාකාර අරමුණු පිළිබඳව මෙම සති මාත්‍රය යෙදීම කෙරෙහි උනන්දු කරවනු ලැබේ.

බාධාවකින් තොරව මෙම සති මාත්‍රය එළඹ සිටි පමණින්ම, සිතට විවිධ දොරටුවලින් රිංගාගන්නා අරමුණු විභාග කරමින් බැලීම හෝ වර්ග කිරීම යම් ප්‍රමාණයකට සිදු වේ. [58] සතිපට්ඨානය වනාහි යෝගාවචරයාට ගෝචර භූමියයි. එහි ලා ''සතිය වනාහි දොරටු පාලකයා''යි යනුවෙන් දක්වෙන උපමාව තුළින් සතියේ ආරක්ෂක භූමිකාව - විශේෂයෙන් ඉන්ද්‍රිය සංවරය ප්‍රකට වෙයි.

සූත්‍රාන්ත ක්‍රමයට අනුව ඉන්ද්‍රිය සංවරය ඇත්තේ **අභිජ්ඣා දොමනස්ස** දෙක දුරු කිරීම සඳහායි. මේ දෙකෙන් තොර බව සතිපට්ඨානයේද මුඛ්‍ය පරමාර්ථයයි. මේ අනුව අභිජ්ඣාදෝමනස්ස දෙකට යට වී සිදු කරන ප්‍රතික්‍රියා දුරු කිරීම හෙවත් මකා දැමීම ඉන්ද්‍රිය සංවරයේ හා සතිපට්ඨානයේ පොදු ලක්ෂණයයි. [59] මේ නිසා මෙම කාර්ය දෙකෙහි සෑහෙන සමගාමී භාවයක් දැකගත හැකිය.

සාමාන්‍ය ඇබ්බැහිවීම්වල පොදු ලක්ෂණයක් වන, ඉබේ සිදු වන හෝ පුරුද්ද අනුව නොදැනී සිදු වන ප්‍රතික්‍රියාවලට කෙළින්ම එදිරිව කටයුතු කිරීම, යට කී ඉන්ද්‍රිය සංවරය හා සතිපට්ඨානය යන ප්‍රතිපත්ති දෙකේදීම සිදු වේ. සතිමත් බව මුල් අදියරේදීම එළඹ සිටීම නිසා කෙනකුට දැන හැඳිනගැනීම් සම්බන්ධව හැසිරවීමේ ප්‍රස්තාවක් ලත් තැනම ලැබෙන අතර, එමගින් තමාගේ පුරුදු නැවත සලකා බලා හැඩගස්වාගැනීමට හැකියාවක් ලැබේ. මෙහි ලා අගය කටයුතු ගුණය වන්නේ, සතියේ ඇති සුඛග්‍රාහි බවත් එමගින් තමා ඇස් පනාපිට අත්දකින දේට සම්පූර්ණ අවධානය අභිමුඛ කරවීමත් එමගින් සතියේ ඇති වහාම තීන්දුවකට නොඑළඹීමේ ගුණය අනුව වහා ප්‍රතික්‍රියා නොකිරීමත්ය.

මේ අනුව, සතියේ ඇති සුඛග්‍රාහී බව හෙවත් ලිහිල්ව ඒත්තුගන්නා බව ආරම්භක අදියරේදීම යෙදෙන නිසා, පුරුද්ද අනුව සිදු වන දේවල් පිළිබඳව දැනුවත් වීමටත් එමගින් තමා කොයි තරම් දුරට අචේතනිකව යාන්ත්‍රිකව මෙන් ක්‍රියා කරන්නේදැයි තක්සේරුවක් කිරීමටත් ඉඩ ලැබේ. මෙයත් අරමුණ පිළිබඳ තෝරා බේරා පිළිගැනීමේ, වරණයකට යට කිරීමේ සතිය සතු ගුණය පිළිබිඹු කරන්නකි. මේ අනුව, මෙතුවක් කල් හුදු ඇදහීම් මත විශ්වාසය මත

කොතෙක් දුරට තමා නොදන නමුත් එල්බගෙන සිටියේදැයි දැන් දැන් අත්දකින ප්‍රත්‍යක්ෂය අනුව හෙළිදරව් වේ. අසම්භාවන ක්‍රියා හෙවත් ඇබ්බැහියකට අනුව හෝ ඉබේට සිදු වෙන - සිදු කරන ක්‍රියා හා යටි සිතේ මැනීම් හා ගැඹුරු ලෙස ප්‍රශ්න කරන තත්ත්ව ඉස්මතු කරගෙන, ඒවා නැවත සලකා බැලීමේ, නැවත හැඩගස්වාගැනීමේ ඉඩ ප්‍රස්තාවක් සතිය විසින් ලබා දෙනු ලබන බව මෙයින් පෙනේ.

සතිය සතු මෙම අපක්ෂපාතී මධ්‍යස්ථ ගුණය, සමහර විට තේරීමකට නොඑළඹීම හෙවත් තීරණයකට ඉක්මන් නොවීම (choicelessness) යයි දක්වා ඇත. තීරණයකට ඉක්මන් නොවූ, කිසිම ප්‍රතික්‍රියාවකට නොඑළඹී, එහෙත් පූර්ණ අවධානයෙන් පසු වීමක් මෙයින් අදහස් කෙරේ. මෙවන් අපක්ෂපාතී මෙන්ම උපේක්ෂා සහිත නිරීක්ෂණයක් සූත්‍ර පිටකයේ වෙනත් තැනක දක්වෙන්නේ කැටපතක උපමාවෙනි. [60] යම් අයකු ස්වකීය මානසිකත්වය පිළිබඳ එළඹ සිටි අවධානය තමාගේම මූණ බැලීමට යොදාගන්නා කන්නාඩියකට උපමා කිරීමෙන්, කැටපත තමා වෙතට පත් දෙයක් කිසිම තේරීමකට ලක් නොකොට පිළිබිඹු කරන්නා සේ, යෝගාවචරයා ආසාවකින් හෝ අමනාපයකින් හෝ නොමැඬී, එළඹෙන මානසිකත්වය උපේක්ෂාවෙන් යුක්තව බලයි යනුවෙන් බුදුපියාණන් වහන්සේ දේශනා කරන සේක.

මෙතෙක් ඉදිරිපත් කරන ලද තොරතුරු පිඬු කරගත් කල්හි, සතිය තහවුරු වීමේදී ''විපරම්කාරී'' බවක් දක්වන නමුදු, එය සුබග්‍රාහී හෙවත් සුබනම්‍ය, ලිහිල්ච නිරීක්ෂණයක් බවට පත් වන බව පැහැදිලිය. උපේක්ෂක බව වශයෙන් හා හුදු අවධාන මාත්‍රයක් වශයෙන් එහි ලක්ෂණ පෙනේ. දැනුවත් වීමේ මුල් කෘත්‍යයේ මුල් අදියරේදීම වාගේ යෙදෙන සතිය නම් මෙම චෛතසිකය කලබල නොවී පරිස්සමින් වැඩිය යුතු අතර, එමගින් අවධානයේ වර්ධනය සුබනම්‍ය ලෙස ඇති වේ. එහි ලා වැදගත් ලක්ෂණ වන්නේ අපක්ෂපාතී වූ වටහාගැනීම් මාත්‍රය, නිතර විපරම්කාරී වීම හා පුළුල් මෙන්ම විවෘත භාවය වේ. මෙමගින් සිදු කරන ප්‍රධාන කෘත්‍යයක් වන්නේ ස්වයංක්‍රියව කෙරෙන පුරුදු - ප්‍රතික්‍රියා ක්‍රමයෙන් බැහැර ලීමය. සතිය මෙලෙස ඒත්තුගැනීමේ තක්සේරු කිරීමේ වැඩ පිළිවෙළ ප්‍රගතිශීලීව

ප්‍රතිව්‍යුහගත කිරීමක් හරහා ඇත්ත ඇති සැටියෙන් දැකීමේ නිරාකූල බවක් හෙවත් අවික්ෂිප්ත දර්ශනයක් දක්වමින් නිමාව සටහන් කරයි. මෙම නොගැටෙනසුලු නමුත් විපරම්කාරී, සුඛනම්‍ය නමුත් නොපැකිළගැනීම සහිත සතිය, එම අනුභූතිවල අන්තර්ගතය නොඉක්මවමින්ද වහා ප්‍රතික්‍රියා කිරීමෙන් වළකිමින්ද මධ්‍යම ප්‍රතිපදාවට ප්‍රවේශයක් මෙන්ම පදනමක්ද සලසයි.

සතිය සතු සමහර ලක්ෂණ පිළිබඳ මෙම විමසුමට අනතුරුව සතර සතිපට්ඨානයට අනුව ක්‍රියාකාරී සතිය යන්න පිළිබඳ විග්‍රහයකට බසිමු. ඊට සුදුසු පසුබිමක් සූදානම් කිරීමක් වශයෙන් ප්‍රථමයෙන් සතිපට්ඨානය යන පදය විග්‍රහ කරමු.

## 4. සතිපට්ඨාන.

සතිපට්ඨාන යන පදය **සති-උපට්ඨාන** යයි බෙදා දැක්විය හැක. මෙහිදී ස්වරලෝපය සිදු වීමෙන් ''උ'' යන්න ලොප් වේ. **උපට්ඨාන** යන පාලි වචනය ''එළඹ සිටීම'' යන අර්ථය දනවන අතර, උක්ත සම්ප්‍රයෝගයේදී සතිය සමග යමකට එළඹීම හෝ සතියෙන් යුක්තව පෙනී සිටීම අදහස් කෙරේ. සූත්‍ර ධර්ම අතර ''**උපට්ඨාන**'' යන මේ ක්‍රියා පදය එළඹීම හෝ උපස්ථානය යන පදවල විවිධ වූත් සියුම් වූත් අර්ථ භේද සහිතව නොයෙක් තැන්වල දැකිය හැක. 61-62 මෙලෙසට තේරුම් බේරුම් කරගත් විට සතිපට්ඨානය යනු විද්‍යමාන අවස්ථාවට ළංව සිටීමේ අර්ථයෙන් සතිය එළඹ සිටීම හා ''අතේ දුරින්'' නමුත් සූදානමින් සිටීමේ අර්ථයෙන් ''උපස්ථානය'' වේ. වෙනත් ආකාරයකට දක්වතොත්, සතිපට්ඨානය යනු එළඹ සිටි සිහිය හෝ සතිය සමග උපස්ථානය යන අර්ථය දෙයි. කෙසේ නමුත් අට්ඨ කථාවල සතිපට්ඨානය යන්න **පට්ඨානය** යන පදයට අනුව අර්ථ දක්වන අතර, **පට්ඨානය** යනු පදනම, හේතුව යන අර්ථ දනවයි .63 අට්ඨ කථාවල දැක්වෙන මෙම විග්‍රහයට අනුව සලකා බලන්නේ නම්, සම්ප්‍රයුක්ත පදය සතිපට්ඨානය නොව ''සතිප්පට්ඨානය'' විය යුතු බැවින් මෙය විය හැකි යයි සිතීමට අපහසුය. තව දුරටත්, **පට්ඨාන** යන ක්‍රියා පදය කිසි විටෙකත් සති යන්න සමග යෙදී ඇති තැන් සූත්‍ර පිටකයේ හමු නොවේ. අඩු තරමින් **පට්ඨාන** යන්න පවා මුල් සූත්‍රවල

කිසි තැනක යෙදී නැති අතර, පසුකාලීන අභිධම්ම හා අට්ඨ කථාවල පමණක් හමු වන පදයකි. සංසන්දනාත්මකව සලකා බැලීමේදී සූත්‍රවල නිතර නිතර **සති** යන්න **උපට්ඨාති** යන ක්‍රියා පදය සමග යෙදෙන නිසා, **උපට්ඨාන** යන්න නිරුක්ති ශාස්ත්‍රයට අනුව නිවැරදි ව්‍යුත්පන්නය වේ. [64] මෙයට අනුගාමී සංස්කෘත පදය වන **ස්මෘත්‍යුපස්ථාන** යන්න මෙය වඩාත් ප්‍රකට කරයි. මේ යෙදුම පාලියේ උපස්ථාන යන්නට සමාන වන අතර, සම්ප්‍රයුක්ත පදයට නිවැරදි විග්‍රහයක්ද සපයයි.

උක්ත අට්ඨ කථා විවරණය මගින් පැන නගින ගැටලුව වන්නේ, සතිපට්ඨානය යන්න ''අවධානයේ විශේෂ ආකාරයක්'' යන තේරුමට වඩා ''සතියේ පදනම හෙවත් සතිය පිහිටුවීම සඳහා වන හේතුව'' යන අර්ථය දීමයි. එමගින්, අවධානය ක්‍රියාකාරිත්වයේ සිට අරමුණ දෙසට මාරු කරයි. එහෙත් සතිපට්ඨානය වනාහි සතිය සඳහා හුදු හේතුව හෝ පදනම පමණක් නොවේ. [65] මක්නිසාද යත්, සළායතන විභංග සූත්‍රයේදී බුදුපියාණන් වහන්සේ සතර සතිපට්ඨානයට අමතරව තවත් සතිපට්ඨාන තුනක් දේශනා කොට ඇති සේක. මේ තුනත් සතිපට්ඨාන වශයෙන්ම නම් කොට ඇත්තේ, සතිපට්ඨානය යනු අරමුණු තේරීමක් පිළිබඳ ප්‍රශ්නයක් වනවාට වඩා තහවුරු කරගත යුතු අදාළ මානසික ගුණ ලීලාවක් වන බැවින්ය.

## 5. සතර සතිපට්ඨානය

සතිපට්ඨාන කෘත්‍යයේදී සතිය ක්ෂේත්‍ර හතරක් පිළිබඳව සැලකිලිමත් වේ. ඒවා නම් කය, වේදනා, සිත හා ධම්ම යන ක්ෂේත්‍ර හතරයි. මේ හතර තුළින් ධම්ම යන්නෙන්, නීවරණ යටපත් කිරීම, බොජ්ඣංග වැඩීම, පංචස්කන්ධ වටහාගැනීම, සළායතන සහ ආර්ය සත්‍ය හතර යන බුද්ධ දේශනාවේ විශේෂ වටිනාකමක් ඇති උගැන්වීම් අදහස් කෙරේ.

සමීපව පරීක්ෂා කිරීමේදී මෙම සතර සතිපට්ඨාන තුළ ගැබ් වී ඇති ක්‍රමිකත්වය, පියවරෙන් පියවර ඉදිරියට යෑමක් නිරූපණය කරයි.

(අංක 02 සටහන බලන්න.) කායානුපස්සනාව ශාරීරික ඉරියව් හා ශරීරගත කුණප කොටස් විභාග කොට බැලීම් වැනි ප්‍රාථමික අභ්‍යාසවලින් පටන්ගෙන ඉදිරියට ගමන් කරයි. තවද, වේදනානුපස්සනා අවධිය සඳහා මෙලෙස ක්‍රමයෙන් දියුණු වන සංවේදිතාවකට පදනම සලසයි. මෙලෙස සතිය වහා වටහාගත හැකි කායික අත්දැකීම් හා ඕළාරික දේවල සිට වඩා සංවේදී අත්දැකීම් වන වේදනා හෙවත් විවිධ වින්දන කරා අභිමුඛ කරයි. වඩා සියුම් වූ සාවධාන අරමුණු වෙතට යොමුව ලබා දෙයි.

වේදනානුපස්සනාව තමා ක්‍රියාත්මක වන ස්වභාවය වන සුඛ, දුක්ඛ සහ අදුක්ඛමසුඛ යන තුන් ආකාරයට සීමා නොවී, ලෞකික හා ලෞකික නොවන සිද්ධි දක්වාම පැතිරේ. ලෞකික නොවන මෙම වේදනා පිළිබඳ භාවනාව ආචාර ධර්ම පිළිබඳ විභාගයට ආරම්භය ලබා දෙයි. මේ අනුව සතිය කුසල අකුසල යන චෛතසික වෙන් කොට දැනගැනීම දක්වා වර්ධනය වේ. මෙලෙස දොරටු විවර කරන්නේ චිත්තානුපස්සනාවටය.

## අංක 02 සටහන

## සතිපට්ඨාන භාවනා විකාශය / ඉදිරි ගමන




චිත්තානුපස්සනාව වනාහි සිතේ ලෝභ, දෝෂ, මෝහ, උද්ධච්ච යන චෛතසික ඇති නැති බව දැනගැනීම යන තැනින් පටන්ගෙන ක්‍රමයෙන් දියුණු වී ගොස් මහග්ගත සිත් හතරෙහි ඇති නැති බව දක්වා අනුපස්සනාවක් ලෙස වැඩේ. මෙම මහග්ගත සිත් පිළිබඳ භාවනාව ස්වභාවයෙන්ම ගැඹුරු සමාධියක් ලබාගැනීම වළක්වන බාධක ධර්ම පිළිබඳ විස්තර විභාගයකට ඉබේම ඉඩ සලසයි. මේවා වනාහි ධම්මානුපස්සනාවෙහි ලා ප්‍රථමයෙන්ම ඉදිරිපත් වන නීවරණ ධර්ම වේ.

මෙලෙස භාවනාවට බලපාන නීවරණ ධර්ම විභාග කිරීමට අනතුරුව ධම්මානුපස්සනාව අභ්‍යන්තරගත අත්දැකීම් විශ්ලේෂණය

කිරීම දෙවිධියකට සිදු කරයි. එනම් පඤ්චස්කන්ධ වශයෙන් හා ෂඩ් ඉන්ද්‍රිය ධර්ම වශයෙනි. මේ විශ්ලේෂණ, බොජ්ඣංග භාවනාවට පහසුකර අත්වැලක් සපයයි. ඒ සතිපට්ඨාන භාවනාවේ මීළඟ පියවරයි. අවසාන වශයෙන්, අවබෝධය මුදුන්පත් කරමින් චතුරාර්ය සත්‍යය පිළිබඳ භාවනාව නිමාව සටහන් කරයි.

මේ අනුව සතිපට්ඨාන භාවනාව ඕළාරික තැනින් පටන්ගෙන ක්‍රමයෙන් සූක්ෂ්ම තැනකට අනුක්‍රමිකව දියුණු වෙයි. මේ රේඛීය අනුක්‍රමික දියුණුව ප්‍රායෝගික පදනමක් නොමැතිව කරන හුදු මනෝමය නිර්දේශයක් නොවේ. උදාහරණයක් ලෙස, කායානුපස්සනාව ප්‍රාරම්භ අභ්‍යාසයක් ලෙස සලකා මූලිකව සතිය වැඩීමේ අරමුණක් ලෙස ඉදිරිපත් කරනු ලබන අතර, අවසාන වශයෙන් දැක්වෙන චතුරාර්ය සත්‍යය පිළිබඳ අභ්‍යාසයට නිරෝධයද අඩංගු වන බැවින් සතිපට්ඨානයේ මුදුන්පත් වීම එයින් සාක්ෂාත් වේ.

එසේ නමුදු කෙසේ හෝ මෙම ක්‍රමය සතිපට්ඨාන ප්‍රගතිය සඳහා ඇති එකම ක්‍රමය යයි අදහස් නොකෙරේ. සතිපට්ඨාන භාවනාවේ ලා සංග්‍රහ වී ඇති අනුපිළිවෙළත් ඇත්තටම භාවනා කරන යෝගාවචරයකුගේ උත්සාහය අනුව සිදු වන ක්‍රමික වර්ධනයත් සලකා බැලීමේදී, පෞද්ගලිකව යෝගාවචරයකු අත්දකින ප්‍රදේශය බලවත් ලෙසින් සීමා වූ එකක් බව පෙනේ. ඒ යෝගාවචරයාගේ අත්දැකීම්වලට ගොදුරු වන සීමිත සංසිද්ධි හා අත්දැකීම් පමණක් ඔහුගේ සතිය වර්ධනයෙහි ලා අරමුණු වශයෙන් ක්‍රියා කරයි. එහෙත් සතිපට්ඨානයේ ප්‍රධාන ලක්ෂණය වනුයේ ඉදිරිපත් වන සංසිද්ධිය කුමක් හෝ වේවා, එයට ඇති සැටියෙන්ම සාවධාන වීමයි. එවන් අවධානයක් ස්වභාවයෙන්ම ඕළාරික තැනකින් පටන්ගෙන සියුම් තැන කරා ඉදිරියට ගමන් කළත්, භාවනාවේ යෙදී ගත කරන විට එම සූත්‍රයේ දැක්වෙන අනුපිළිවලින් වෙනස්ව ගමන් කිරීමට සෑහෙන ඉඩක් ඇත්තේය.

අනුගමනය කරන පිළිවෙල කුමක් වුවද සුඛනම්‍ය වූත් අංග සම්පූර්ණ වූත් සතිපට්ඨාන දියුණුවක් සඳහා යෝගියා සියලුම වර්ගවල අත්දැකීම්වලින් සමන්නාගත විය යුතු වේ. කෙනකු භාවනා

කරන විට, භාවනා දියුණුවත් සමගම ඒ ඒ සතිපට්ඨානය අදාළ ලෙස කාර්ය සාධනය කරයි. උදාහරණයක් ලෙස, කායානුපස්සනා කොටස භාවනාවේ මතු අවධියකදී අතහැර දැමීමට හෝ බැහැර කිරීමට සිදු වේ යයි නොකියවේ. මක්නිසාද යත්, එය රහත් උතුමන් වහන්සේලාටත් එක සේ වැදගත් වන බැවිනි. සර්වඥ වූ බුදු පියාණන් වහන්සේ පවා ආනාපාන සති භාවනාව වරින් වර වැඩූ බවට ඇති සාධක මේ බව තහවුරු කරයි.[66] මෙලෙස සතිපට්ඨාන සූත්‍රයේ ලා අඩංගු වන භාවනා කර්මස්ථාන එකිනෙක අන්‍යොන්‍ය වශයෙන් උපකාරී බව පෙනේ. එක් එක් යෝගාවචරයාගේ චරිතයට උචිත ලෙසට කර්මස්ථාන අනුපිළිවෙළ වෙනස්ව යෙදේ.

මෙලෙස සතිපට්ඨාන සතර එකිනෙකට අන්‍යොන්‍ය වශයෙන් උපකාර වනවාක් මෙන්ම, ඒ සියල්ල එකම සතිපට්ඨාන ''පර්වයක්'' තුළ සමස්තයක් ලෙස එකට එකතු කොට දැක්වීමටද හැකියාව ඇත. ආනාපාන සූත්‍රයේදී එකම ආනාපානසති භාවනා කොටසේදී සියලු සතිපට්ඨාන වැඩෙන සේ ඉදිරියට යෑමක් සූත්‍රගත වාර්තාවල ඇත. [67] මෙම විවරණය එකම භාවනාවක් තුළ සතර සතිපට්ඨානයම සංග්‍රහ වන බව හුවා දක්වයි.

ආනාපාන සති සූත්‍රයට අනුව, එකම භාවනා අරමුණකින් විවිධ සතිපට්ඨාන වැඩිය හැකි වන අතර, වැඩ පිළිවෙළ නිමාව දකින විට සියලු සතිපට්ඨාන සම්පූර්ණ බවට පත් වනු ඇත. මේ නිසා, එක් එක් සතිපට්ඨානයක් හෝ එක් එක් කමටහනක් කොතෙක් දුරට භාවනා කළ යුතු දැයි ප්‍රශ්නයක් පැන නගී.

එක සතිපට්ඨානයක්ම වැඩීමෙන් සත්‍යාවබෝධය සිදු වීමේ සිද්ධි සූත්‍ර කීපයකම වාර්තා වී ඇත.[68] ඇත්ත වශයෙන් ඕනෑම භාවනා ක්‍රමයකට අනුව සතිය දියුණු වීමේදී අවධානයේ කැපී පෙනෙන වර්ධනයක් අනායාසයෙන්ම සැලසෙන අතර, එමගින් සාමාන්‍ය වටපිටා තත්ත්වය පිළිබඳ අවදි බවේ ගුණාත්මක වර්ධනයක් සැලසේ. ඇත්ත වශයෙන්ම එම සාමාන්‍ය අවබෝධය තමාගේ මූල කර්මස්ථානයටම සීමා වී ලබන්නක් නොවේ. මෙලෙස සතිපට්ඨානය යටතේ විශේෂයෙන්ම නම් වශයෙන් සඳහන් කොට නොමැති කොටස්ද, තමා වඩන මූල කර්මස්ථානය වැඩීමේදී අතුරු ඵලයක්

ලෙස සතියේ අවධානයට ලක් වෙයි.

ආනාපානාසති සූත්‍රයට අනුව, තව දුරටත් භාවනා කිරීමේදී හුස්ම පිළිබඳ අවධාන මාත්‍රය පමණින් කෙනකු සියලුම සතිපට්ඨාන පිළිබඳව පරිචයක් ලැබීමට පොහොසත් වන බවක් අනිවාර්යයෙන් නොකියවේ. බුදු පියාණන් වහන්සේ එහි ලා මතු කරලීමට උත්සාහ කරන්නේ, මනා ලෙස තහවුරු කරගත් සතිය ආනාපානයේ සිට විවිධ ප්‍රත්‍යක්ෂ අවබෝධ හරහා වඩා පෘථුල පරාසයකට මග හෙළි කරන්නේය යන අදහසයි. දක්වූ පරිදි විවිධ පෘථුල පරාසයකට අයත් වන අංග ආවරණය කළ හැකි වන්නේ ඒ සඳහාම සිත යොදා කරන භාවනාවෙන් බව මෙහි ලා විශේෂයෙන් සඳහන් කොට ඇත. එම නිසාම සියලු අභිමත අර්ථ ඉෂ්ට කරගැනීම සලකා සම්පූර්ණ සූත්‍රයම දේශනා කළ බව වටහාගත යුතුය.

මේ නිසා එක් පර්වයක් හෙවත් පුරුකක් මූල කර්මස්ථානය වශයෙන් තෝරාගන්නේ නමුත්, සතර සතිපට්ඨානයම භාවනා කිරීම, සතරටම සිත යොදා භාවනා කිරීම නුවණට හුරුය. ද්විතීය කර්මස්ථානය වශයෙන් සලකා හෝ එසේ භාවනා කිරීම හොඳය. මේ අදහස සතිපට්ඨාන සූත්‍රයේ අවසාන නිගමන කොටසේ කියවෙන, නිවන පිළිබඳ අනාගත වාක්‍යය දක්වෙන කොටස හා සමාන බවක් දක්වයි. අර්හත් ඵලය සඳහා හෝ අනාගාමි ඵලය සඳහා සතර සතිපට්ඨානයම වැඩිය යුතු බව එහි අවධාරණය වේ.[70] මෙලෙස සතිපට්ඨාන හතරක්ම ඇතුළත් කොට දේශනා කිරීමෙන් ගම්‍ය වන්නේ, උතුම් සත්‍යාවබෝධය සාක්ෂාත් කරගැනීමට නම් චතුරාංග සමන්නාගත සමස්ත භාවනාවම එක සේ වැඩිය යුතු බවයි. මේ කාරණය සතිපට්ඨාන සංයුක්තයේද දක්වෙන අතර, සමහර කොටස් පමණක් ගෙන කරන භාවනාව පහළ මාර්ග ඵල ඥාන අවබෝධයට හේතු වන බව වැඩි දුරටත් දක්වා ඇත. [71]

ආනාපාන සංයුක්තයේ දක්වෙන පාඨයකට අනුව, සතර සතිපට්ඨානය සතර දිගින් පැමිණෙන රථවලට උපමා කොට ඇත. සෑම පැත්තකින්ම පැමිණෙන රථ, හන්දිය හරහා ගමන් කිරීම නිසා, හතර මංහන්දිය මැද යම් දූවිලි ගොඩක් රැස්ව තිබේ නම් එය විසිරී යන්නේය. [72] ඒ අනුව, යම් සේ විවිධ දිගින් පැමිණෙන රථ මගින්, හන්දිය මැද රොක්ව ඇති දූවිලි විසුරුවා හරින්නේද, එලෙසටම සෑම

සතිපට්ඨානයක්ම නීවරණ ධර්ම යටපත් කිරීමට හැම අතින්ම සමත් වන්නේය. මෙම උපමාව සතර සතිපට්ඨාන එක එකක අන්‍යොන්‍ය සහයෝගය දක්වයි. එවිට සතර මංසන්ධියක මැද එකතුවී ඇති දූවිලි විවිධ දිසාවලින් පැමිණෙන රථ මගින් යම් සේ ඉතිරියක් නැතිව පිස හරින්නේද සිතෙහිද එසේම වන්නේය.

මේ අනුව එක් එක් සතිපට්ඨානයක්, එක් එක් පර්වයක්, ගැඹුරු විපස්සනාවට බැසගැනීමට ප්‍රවේශයක් ලබාදෙන්නේය. සතර සතිපට්ඨානයම සම්පූර්ණ කිරීමට කෙනකු ගන්නා උත්සාහය කරණ කොටගෙන, කෙසේ නමුත්, සූත්‍රයේ දක්වෙන විවිධ භාවනා කොටස්වල ඒ ඒ සුවිශේෂ ගුණවලට සමානුපාතිකව භාවනා ප්‍රගතිය වේගවත් වනවාක් මෙන්ම අංග සම්පූර්ණ වීමත් සමබරතාවට පත් වීමත් අනුක්‍රමයෙන් සිදු වේ.

සතිපට්ඨාන එක එකක ඇති විවිධ ගුණාංගවලට අනුව විවිධ කර්තව්‍ය සලසා දෙන නිසා, පූර්ණත්වය සඳහා සියල්ලේ සාමුහික වර්ධනය නැතිවම බැරි දෙයක් වේ. නෙත්තිප්පකරණයේ හා එහි අටුවාවේ මේ කාරණය වාර්තා කරන්නේ, එක් එක් සතිපට්ඨානයට අදාළ සම්බන්ධතා වගුවක් ලෙසිනි.  අංක 03 සටහන බලන්න.

අට්ඨ කථා දක්වීමට අනුව සතිපට්ඨාන එක එකක් ස්කන්ධ එක එකකට අනුරූප වේ. රූප ස්කන්ධය, වේදනා ස්කන්ධය හා විඥ්ඥාණ ස්කන්ධය අනුපිළිවෙලින් මුල් සතිපට්ඨාන තුනට අනුරූප වේ. සඤ්ඤා ස්කන්ධය හා සංස්කාර ස්කන්ධය ධම්මානුපස්සනාවට අනුරූප වේ.[73]

## අංක 03 සටහන - සතිපට්ඨාන සතරේ අන්‍යෝන්‍ය සම්බන්ධතා

| කායානුපස්සනාව | වේදනානු | චිත්තානු | ධම්මානු |
|---|---|---|---|
| ස්කන්ධ - රූප | වේදනා | විඤ්ඤාණ | සඤ්ඤා/සංස්කාර |
| නිර්දේශය - දුර්වල ලෝභ චරිතයාට | ප්‍රබල ලෝභ චරිතයාට | දුර්වල විතක්ක චරිතයාට | ප්‍රබල විතක්ක චරිතයාට |
| පිහිටුවීම - පටික්කූල බව | දුක් බව | අනිත්‍ය බව | අනාත්ම බව |

කෙසේ නමුත්, වඩා සමීපව බැලීමේදී මෙම අනෝන්‍ය සම්බන්ධතා එතරම් බලවත් නැති බව පෙනේ. මක්නිසාද යත්, තුන්වන සතිපට්ඨානය වන චිත්තානුපස්සනාව සියලුම නාම ධර්ම සම්බන්ධ කරගෙන පවතින්නක් වන අතර, එය හුදු විඤ්ඤාණ ස්කන්ධයට සීමා නොවේ. එසේම ධම්මානුපස්සනාවත් ස්වභාවයෙන් සියලුම ස්කන්ධ ආවරණය කරන්නක් නිසා, දක්වා ඇති ලෙසට සඤ්ඤා, සංස්කාර යන ස්කන්ධ දෙකට වඩා විශාල පරාසයක් පුරා පැතිර පවතින්නකි. කෙසේ නමුත් මෙහිදී දක්වන්නට උත්සාහ කරන්නේ, ස්වකීය ප්‍රත්‍යක්ෂ භාවනා අත්දැකීම් සම්බන්ධ සියලුම අංග, සතර සතිපට්ඨාන තුළින් මතු කරගැනීම විය හැක. එලෙසින් සලකා බලන කල, මෙම ප්‍රයත්නය වනාහි තම භාවනා ප්‍රත්‍යක්ෂය පඤ්චස්කන්ධය හා සතර සතිපට්ඨාන වශයෙන් ගළපා බැලීමක් වේ. මෙම ප්‍රයත්න දෙකෙන්ම යෝගාවචරයාගේ ආත්මීය මායාව දියාරු කර ලීම සිදු වේ. යෝගාවචරයා ප්‍රත්‍යක්ෂවලට විවිධාකාරයෙන් සතිය යොමු කර ලීම මගින් තම අත්දැකීමම යළිත් අරමුණු කිරීමෙන් ඒවායේ සැඟවී ඇති ඝන සඤ්ඤා හා මම යන ආත්මීය සාරයන් බිඳී විසිර යාමට පටන්ගනී. තමාගේම ආත්මගත අත්දැකීම් අරමුණක් ලෙස දකින විට, මමය මාගේය යන මමායනය වඩාත් දුර්වල වේ. එක් එක් ස්කන්ධයක් තව දුරටත් මමෙක් වශයෙන් දැකගත නොහැකි වන තරමට දැඩි ලෙස පරීක්ෂාවට ලක් කරන මෙන් බුදුපියාණන් වහන්සේ

කරන අනුශාසනාව මෙය සමග කදිමට ගැළපේ.[74] ස්කන්ධ ධර්ම අතර අන්‍යොන්‍ය සම්බන්ධතාවලටත් වඩා, අට්ඨ කථා විසින් සතිපට්ඨාන එක එකක් ඒ ඒ චරිත සඳහා නිර්දේශ කරනු ලැබේ. ඒ අනුව කාය, වේදනා යන සතිපට්ඨාන ලෝභාධික චරිතයාට ප්‍රධාන ප්‍රතිපදාව විය යුතු අතර, චිත්ත ධම්ම යන සතිපට්ඨාන බුද්ධි චරිත, විතක්ක චරිත ඇත්තන්ට යෝග්‍ය ලෙස අවධාරණය කොට ඇත.[75] මේ අනුව පළමුවන හා දෙවන සතිපට්ඨාන දෙක හැඟීම්බර චරිතවලට සුදුසු වන අතර, ඉතිරි දෙක ප්‍රඥා චරිතයකට හෙවත් බුද්ධි චරිතයකට නිර්දේශ කර තිබේ. මේ අවස්ථා දෙකේම තීක්‍ෂණ ප්‍රඥාවන්තයාට චිත්ත ධම්ම යන වඩා සියුම් අනුපස්සනාවද, දන්ධපඤ්ඤ පුද්ගලයා සඳහා වඩා ඕළාරික වූ කාය - වේදනා යන අනුපස්සනාද නිර්දේශ කිරීම වඩා ප්‍රඥාගෝචර බව හැඟේ. මේවා චරිත වශයෙන් මෙහි දැක්වෙතත් අවස්ථාවේ පවතින මානසික වාතාවරණය අනුවත් එලෙස සුදුසු සේ යොදාගත හැක්කේය. ඒ අනුව කුසීත වූද ආසාවන්ගෙන් මැඬුණා වූද අවස්ථාවලට කායානුපස්සනාව සුදුසු බව නිදසුනක් ලෙස දැක්විය හැක්කේය.

නෙත්තිප්පකරණය හා විසුද්ධි මග්ග යන ග්‍රන්ථ දෙකෙහිම සතර සතිපට්ඨානය සතරාකාර වූ විපල්ලාසවලට ප්‍රත්‍යක්‍ෂ ධර්ම ලෙස පිහිටුවා ඇත්තේය. එම විපල්ලාස වනාහි අසුභ, දුක්ඛ, අනිත්‍ය, අනාත්ම වූ දේවල් සුභ, සුඛ, නිත්‍ය, ආත්ම වශයෙන් වරදවා ගැනීමයි[76] මේ අනුව කායානුපස්සනාව, අසුභය මතු කර දැක්වීම තම පරමාර්ථය කොට ඇත. වේදනානුපස්සනාව, කෙනකු අතෘප්තිකරව සැප ලුහුබැඳ යෑමට එදිරිව ක්‍රියා කරයි. විවිධ වූ චිත්ත ස්වභාව වනාහි තම ආත්මගත අත්දැකීම් වහවහා වෙනස් වනසුලු අනිත්‍යය බවද අවසාන වශයෙන් ධම්මානුපස්සනාව ස්ථිරසාර වූ ආත්මයක් කිසි තැනකත් නොලැබිය හැකි බවද දක්වයි. මේ ඉදිරිපත් කිරීමට අනුව එක එක සතිපට්ඨානයක් විශේෂයෙන් සුභ, සුඛ, නිත්‍ය, ආත්ම යන විපල්ලාස හෙවත් මුළා දුරු කිරීමට සමත් බව ප්‍රකාශ කරයි. අදාළ විපස්සනා අනුල්ලංඝනීය ලෙස එක එකක් සතිපට්ඨානයට සීමා වී නැතත්, එක් විපල්ලාසයක් අධිකව ක්‍රියා කරන යෝගී චරිතයක් සඳහා කුමන සතිපට්ඨානයක් ගැළපී යන්නේද යන්න සලකා බැලීමේදී මෙමගින් ඉගියක් ලැබේ.

අවසානයේදී සියලුම නගරද්වාර එකම නගරයකට ප්‍රවේශය ලබාදෙන්නා සේ සතර සතිපට්ඨානම එකම නිවනට පත් කර ලීමට, එකම ක්ෂේම භූමියට යොමු කර ලීමට කොටස්කරුවෝ වෙත්.[77] අට්ඨ කථාව දක්වන නිදසුනකට අනුව, උණ බට වියන්නා එකම උණ බම්බුව හතරට පලා කුඩයක් වියන්නා සේ මෙම  හතරට බෙදීම වනාහි එක එක කෘත්‍යය හා ක්‍රියාකාරිත්වය අනුව කරන බෙදීමකි.[78]

සතිය සතිපට්ඨානයේදී තීරණාත්මක වන්නාක් සේම සමථ භාවනාවේදීද විශේෂ භූමිකාවක් දක්වයි. ඒ සම්බන්ධයෙන් මෙතැන් පටන් අවධානය යොමු කරවමු.

## 06. සතිය හා සමාධිය

මනා ලෙස තහවුරු කරගත් සතියේ අඛණ්ඩ පැවැත්ම ධ්‍යාන ප්‍රතිලාභය සඳහා නැතිව බැරි දෙයකි. [79] විසුද්ධි මග්ගයේ දැක්වෙන පරිදි සතියේ උපකාරය නොලබන සමාධිය ගැඹුරු මට්ටමකට අවතීර්ණ නොවේ.[80] ගැඹුරු සමාධියෙන් නැගී සිට නැවත ආවර්ජනා කිරීමේදී ප්‍රත්‍යවෙක්ෂා කිරීමේදී සතිය උපකාර වේ. [81] මෙලෙස ධ්‍යානයකට සම වැදී එහි ගත කරන අවස්ථාවේදී මෙන්ම නැගී සිටීමේදීද සතිය අත්‍යවශ්‍යය.[82]

තුන්වන ධ්‍යානයේදී සතිය විශේෂයෙන් අවශ්‍ය වේ. [83] සතරවන ධ්‍යානයට පමුණුවාගත් සිත හොඳින් වශී  භාවයට පත් කරගත්තේ නම්, එය අභිඤ්ඤා සඳහා පාදක කරගත හැක්කේය. එහිදීද සතිය ගැඹුරු උපේක්ෂාව ඇසුරු කරන නිසා විශේෂ ලෙස සුද්ධියකට පත් වේ. [84] සූත්‍ර පිටකයේ කිහිප තැනකදීම ධ්‍යාන ඉපැයීමටත් ඉන් අනතුරුවත් අභිඤ්ඤා ලාභය පිණිසත් සතිපට්ඨානය පදනම සලසන බව දක්වා ඇත. [85] සමාධි භාවනාවේදී සතිපට්ඨානයේ භූමිකාව අනුපිළිවෙළින් ඉදිරියට යෑම දක්වන සම්මත ක්‍රමයට අනුව, මූලික පියවර වශයෙන් කය පිළිබඳ සම්පජඤ්ඤ කොටස ධ්‍යාන ප්‍රතිලාභයට හේතු වන බව දක්වේ. එහි ලා අවසානයට දක්වන සතර වන සම්පජඤ්ඤය වනාහි ධම්මානුපස්සනාව වශයෙන් නීවරණ ධර්ම හඳුනාගැනීමටත් ඒවායේ දුරු වී යෑම දකගැනීමටත් ආධාරක වේ.

සතිපට්ඨානය ධ්‍යාන මට්ටමට දියුණු වීම සවිස්තරව අතුරු අවස්ථාත් සහිතව **දන්ත භූමි** සූත්‍රයේ දක්වේ. මෙහි දක්වෙන අතුරු අවස්ථාවලදීද කිසිම සිතිවිල්ලකට ඉඩක් නොතබා [86] කාය-වේදනා-චිත්ත ධම්ම යන අනුපස්සනා දිගට ඉදිරියට විකාශය වේ. සතිය සමීපව ඇසුරු කරන චෛතසික වශයෙන් සතිපට්ඨාන සූත්‍රයේ සඳහන් වන ආතාපිසම්පජානො යන මේවා නොපැවතීම සංක්‍රමණ අවධියේදී කැපී පෙනෙන ලක්ෂණයකි. මෙම නැති බව නිසා, මෙම අවධියේදී භාවනාව තව දුරටත් සතිපට්ඨානය නොවන බවත් සංක්‍රමණ අවධිය බවත් පැහැදිලි වේ. සිතිවිලිවලින් තොර මේ සංක්‍රමණ අවධිය සතිපට්ඨාන සූත්‍රයේ දක්වෙන ලිහිල් වූත් මධ්‍යස්ථ වූත් නිරීක්ෂණ ගුණයට සමාන බවක් දක්වන අතරම, එය සතිපට්ඨානය ගන්නා අරමුණුම ගනී. ඒ වාගේම මෙය විපස්සනාවෙන් සමාධියට හැරවීමේ අවධිය පැහැදිලිව සලකුණු කරයි. ''නියම'' සතිපට්ඨානයේ සිට මෙම සංක්‍රමණයත් සමගම වඩාත් ශාන්ත වූ භාවනාවකට හැරීමේදී ධ්‍යාන ප්‍රතිලාභයට ඉඩ සැලසේ.

මෙම අවස්ථා සලකා බැලීමේදී සතිය සමථ භාවනාවේදීද වැදගත් කාර්ය භාරයක් ඉටු කරන බව පැහැදිලි වේ. චුල්ල වේදල්ල සූත්‍රයේදී සතිපට්ඨානය සමාධියේ නිමිත්ත ලෙස දක්වා ඇත්තේ මේ කාරණය නිසා විය හැක්කේය. [87] උසස් සමාධි භාවනාමය වශී භාවයකින්ම ලබාගත යුතු දක්ෂතාවක් වන, අනෙකුත් භවයන්හි සිටින සත්ත්වයන් දකගැනීමේ අභිඤ්ඤා ශක්තිය අතින් අග්‍ර වූද ඒ සඳහා ඒතදග්ග පාලියෙන් පිදුම් ලැබුවා වූද අනුරුද්ධ මහ රහතන් වහන්සේ, සමාධිය වැඩීමේදී සතිපට්ඨානයේ ඇති වලංගු භාවය ආදර්ශවත් ලෙස මතු කර පෙන්වති.[88] තම හැකියාව පිළිබඳ ප්‍රශ්න නගන හැම වාරයකදීම උන්වහන්සේගේ අනායාස උත්තරය වන්නේ ඒවා සතිපට්ඨාන සමාධියේ ආනිශංස බවය.[89]

ඒ වාගේම සතිපට්ඨානය ශුද්ධ සමථ අභ්‍යාසයක් ලෙස සැලකීම සීමාව ඉක්මවා යෑමක් වන අතර, එවන් සැලකීමකින් සමථය වැඩීමට පදනම් කරගත හැකි දේවල් හා ''නියම'' සමථ භාවනා ක්ෂේත්‍රයට අයත් සීමා මොනවාද යන වැදගත් කරුණු දෙක අතර

වෙනස පවා ගිළිහී ගිය හැකිය. සතියේ හා සමාධියේ පෞද්ගලික ලක්ෂණ එකිනෙකට වෙනස්ය. සමාධිය දැනුම් පරාසය සීමා කිරීම මගින් සිතේ තේරීමේ හෙවත් වරණය කිරීමේ කෘත්‍යය දියුණු කිරීමට සම්බන්ධ වන අතර, සතිය අවධානයේ පරාසය පුළුල් කිරීම මගින් ස්මරණය කිරීමේ හැකියාව දියුණු කරයි. මෙම පරස්පර මානසික කෘත්‍ය දෙක මොළයේ අර්ධ දෙකේ පාලන යාන්ත්‍රණය හා අනුකූල බවක් දක්වයි. මේ දෙක එකිනෙකට වෙනස් වූ කෘත්‍ය දෙකක් වුවද ඒවා එකිනෙකට එදිරි වූ විරෝධී දේවල් නොවේ. ධ්‍යාන ලාභය සඳහා මේ දෙකම එකිනෙක සමග යෙදිය යුතු බවම එයට සාක්ෂියකි. එනමුත් ධ්‍යාන සමාපත්තියේදී සතිය එළඹ ඇත්තේ වුවද පවත්නා සමාධියේ බලවත්කම නිසා, ඒකාග්‍රතාව නිසා සතියේ පුළුල් බව යම් පමණකට සීමා වී ඇත.

සතිපට්ඨාන සූත්‍රයේ ලා යොදාගන්නා වචන මාලාව මේ චෛතසික දෙකේ වෙනස දක්වයි. සතිපට්ඨාන භාවනාවේදී වික්ෂිප්ත වූ හෝ කුසීත වූ සිත් පහළ වූයේ නම්, තාවකාලිකව භාවනාව සමථ අරමුණකට මාරු කරන ලෙසට බුදුපියාණන් වහන්සේ අනුශාසනා කරන සේක. එමගින් ඇතුළත ප්‍රමෝදය හා පස්සද්ධිය පහළ කර ලීම එම අනුශාසනාවේ පරමාර්ථයයි. මේ සඳහා බුදුපියාණන් වහන්සේ උපයෝගී කරගන්නේ **පණිධාය භාවනා** - සිත යොමු කොට හෙවත් සිත පිහිටුවා කරන භාවනාව යන යෙදීමයි. කෙසේ හෝ සිත අපේක්ෂිත පරිදි එමගින් ශාන්ත භාවයට පත් වී නම්, **අපණිධාය** හෙවත් සිත යොමු නොකළ හෙවත් සිත නොපිහිටුවා කරන භාවනාවට, වෙනත් වචනයකින් කියනවා නම් සතිපට්ඨාන භාවනාවට, නැවත සිත යොමු කළ යුතුයි.[90] මෙසේ සිත පිහිටුවා සහ නොපිහිටුවා කරන භාවනා අතර පෙන්වා දෙන වෙනස මගින් යෝජනා වන්නේ ඒවා පැහැදිලි වශයෙන් එකිනෙකට වෙනස් වන බවය. එසේ වුවද මුළු සූත්‍රයම අවධාරණය කරන්නේ, මේ ක්‍රම දෙක දක්ෂ ලෙස සම්බන්ධ කරගැනීම නිසා, ඒවා අතර මොන තරම් පරස්පර බවක් තිබුණේ වී නමුත් ඒ දේ එකිනෙකට සම්බන්ධ වන අතරම ප්‍රතිඋපකාරක බවද පෙන්වීමය.[91]

සමාධියේ ලක්‍ෂණය වන්නේ සිත යෙදවීම හා යොමු කරවීම යන දෙකය; ඒ සඳහා එක අරමුණක් වෙතට අභිමුඛ කරවමින් බාහිර දෑ බැහැර කිරීමය. මෙලෙස මනසේ ඒකාග්‍රතාව වර්ධනය වීම අනුව, පොදු සාමාන්‍ය අත්දැකීම් වන වස්තුව, ආරම්මණය යන දෙකෙන් ආරම්භ කොට ක්‍රමයෙන් ඒකාත්මික අත්දැකීමක් දෙසට මනස අභිමුඛ කරවයි. මේ ක්‍රියාවලියේදී කෙසේ නමුත් සමාධිය හා සංසිද්ධි අතර පුළුල් දැනුම ද ඒවායේ අන්තර් සම්බන්ධතාද බැහැර කරලයි. එසේ නමුදු, එම අන්තර් සම්බන්ධතා මෙන්ම සිද්ධි අතර ඇති පුළුල් සම්බන්ධතාද පිළිබඳ අවබෝධය, විමුක්තියට යොමුව දෙන අවබෝධයේ ගති ලකුණු පිළිබඳව දැනුවත් වීම සම්බන්ධයෙන් සලකා බලන කල, විශේෂයෙන් අත්‍යවශ්‍ය වෙයි. මේ සන්දර්භය හමුවේ සතිය සතු සුබග්‍රාහි බව විශේෂ වටිනාකමක් උසුලයි.

මෙලෙස සතිය ධ්‍යාන ප්‍රතිලාභය පිණිස නැතිව බැරි ආකාරයේ භූමිකාවක් දක්වුවද, එය ඊටම ආවේණික වූ ලක්‍ෂණ අතින් සමාධියෙන් කැපී පෙනෙන ලෙස වෙනස් වූ චෛතසිකයකි. ඇත්තෙන්ම ඉතා උසස් ධ්‍යාන සමාධියක් වුවත් විමුක්තිදායී විපස්සනාවට සම කළ නොහැකි වන්නේ, සතියේ මෙම අවිරෝධී නිරීක්‍ෂණ ගුණය ගැඹුරු සමාධියේ ඇති යථොක්ත කේන්ද්‍රගත කිරීමේ බලයෙන් නිෂේධනය කෙරෙන නිසා විය හැක්කේය.

සමාධිය හා සතිපට්ඨානය සඳහා සතියේ භූමිකාව සලකා බැලීමේදී පුළුල් පරාසයක තම හැකියා දැක්වීමේ ගුණය හෙවත් හුරුබුහුටි බව මැනවින් කැපී පෙනේ. සමථ භාවනා ක්‍ෂේත්‍රයේදී සතියේ කාර්යභාරය වනාහි නීවරණ ධර්ම ඉස්මතු වන විට ඒ බව හඳුනාගන්නා තැන් පටන් උසස්ම ධ්‍යානය තෙක් පැතිර පවතී. සතිය මෙවැනිම පුළුල් පරාසයක් තුළ ක්‍රියාත්මක වීමක් සතිපට්ඨාන ක්‍ෂේත්‍රයේදීද දක්වයි. එහිලා ඉතාමත් ඕළාරික තැන පටන් එනම්, කැසිකිළි - වැසිකිළි කෘත්‍යයේ පටන් ඉතාමත් උතුම් අවස්ථාව වන නිර්වාණාවබෝධය සිදු වන අවස්ථාවේ එම සිතේ පවතින චෛතසිකයක් වන තැන දක්වාම සතිය සිය මෙහෙය අඛණ්ඩව ඉටු කරයි.

ඇත්ත වශයෙන්ම සතිය සතු මෙම මැදිහත් නොවීමේ ගුණය අනුක්‍රමයෙන් වර්ධනය කිරීම නම් වන සතිපට්ඨානය, නිර්වාණාබෝධය සඳහා ප්‍රඥාව අංග සම්පූර්ණ කිරීමට, උත්තම වූ සතුටට ''විෂයක්‍රාන්ත'' වූ විමුක්තියට ඇති ඍජු ඒකායන මාර්ගයයි[92].

## සතියේ විවිධ ලක්ෂණ

මෙම පරිච්ඡේදයෙහිදී සතියේ ලක්ෂණ ගවේෂණය කිරීමට කැමැත්තෙමි. ප්‍රථමයෙන් ත්‍රිපිටකයේ විවිධ උද්ධෘත අනුව, සතිය නොමැතිකමේ, අසතියේ, ආදීනව පෙන්වාදෙන්නෙමි. අනතුරුව සතිය ආරක්ෂාව සම්පාදනය කර දෙන ආකාරයද අවසාන වශයෙන් සතිය හා මතකය අතර සම්බන්ධතාවද ගෙනහැර දක්වන අතර, එය මීට කලින් කරන ලද ''සතිපට්ඨානය'' නමැති මගේ මුල් පොතේද සෑහෙන දුරට සාකච්ඡා කරන්නට යෙදුණු කරුණකි.

## අසතිය හෙවත් සතිය නැති බව (මුට්ඨස්සති)

මුල් බුද්ධාගමේ, සතියේ හෙවත් සිහියේ ආනිසංස අගය කිරීම සඳහා ක්‍රමයක් වශයෙන් අසතිමත් බව හෙවත් මුළා සිහියේ ආදීනව ගෙන හැර පා ඇත. අසතිමත් වීම නිසා සිදු වන හානිය පිළිබඳ විස්තර සලකා බැලීමෙන් පසු, සතියේ කෘත්‍යය වක්‍ර ලෙස වටහාගත හැකිය. නිතර හමු වන එවන් ත්‍රිපිටක පාඨවලට අනුව අසතිමත් බව හෙවත් මුළා සිහිය නිසා කාම ආශාවලට යට වීම විස්තර කෙරේ.

මේ අනුව සතිමත් බවේ එක් කෘත්‍යයක් වන ආරක්ෂක කෘත්‍යය නිසා සදාචාරාත්මක හා ආචාර ධර්මානුකූල ආනිශංසයක් යෝගියාට ලැබේ. සංයුක්ත නිකායේ මෙන්ම එහි මහායාන පොත වන සංයුක්ත ආගමෙහි එක් සූත්‍රයක, අසතිමත්ව මුළා සිහියෙන් යුක්තව පිණ්ඩපාතයේ වැඩි භික්ෂුවකට සිදු වූ එක් ඇබැද්දියක් දක්වා ඇත. සංයුක්ත නිකායේ ඒ උද්ධෘතය මෙසේයඃ මෝඩකමින් මෙන්ම නොදැනුවත්කමින්ද යුක්තව ගමේ පිණ්ඩපාතයේ යෙදෙන මේ භික්ෂුව උදයේ සිවුරු පොරවා පාත්‍රය ගෙන පිඬු පිණිස ගමට පිවිසෙන්නේ හික්මීමෙන් යුක්තව තමාගේ ඉඳුරන් සංවර කරගෙන නොවේ.

සතිමත්ව නොවේ. කාන්තාවක දැක අයෝනිසෝ මනසිකාරයෙන් යුක්තව ඇගේ අඟ පසඟ බලා රාගනිඃශ්‍රිත වීමෙන් රාග ගින්නෙන් දැවී සිත කය තුළ දාහය හටගනී. සංයුක්ත නිකායේ මෙන්ම සංයුක්ත ආගම පොතේ එන පරිච්ඡේදයේද ඇති පරිදි සතිමත් බව, ඉන්ද්‍රිය සංවරය, ආචාරශීලිත්වය යන මේවා බ්‍රහ්මචරිය සඳහා සමීප සම්බන්ධතාවකින් ක්‍රියා කරයි. ඇත්ත වශයෙන්ම සතිය එළැඹ සිටී නම් කෙනකු තුළ ආචාර ධර්ම හා ඉඳුරන් පිළිබඳ සංවරය ඉබේම සකස් වේ. සුපතිට්ඨිත සතිය හෝ අඛණ්ඩ සතිය තිබේ නම්, කෙනකුට සිතේ පහළවන චංචල, කම්පන, අසංවරතා වහා වැටහෙන්න පටන්ගනී. (සං. නි 4/228)

ඉහත සිද්ධියේදී එම භික්ෂුවට තමන් කරන දේ මතක නැති වීම, අසතිය නිසා සිදු වූ බවක් නොකියවේ. ඔහුට තමාගේ පාත්‍රය අමතක වීමක් හෝ ආපසු ආරණ්‍යයට වඩින මග අමතක වීමක් හෝ සඳහන් නොවේ. ප්‍රධාන වශයෙන්ම අවධාරණය කෙරෙන්නේ, ක්‍රමයෙන් සිවුරු හැර දමන තත්ත්වයට පත් වූ බවයි. සංයුත්ත ආගම (මහායාන පොත) මෙහි ලා වැඩි දුර විස්තර ගෙන හැර දක්වමින්, සිත කය දෙක රාග ගින්නෙන් රත් වූ විට ඔහුට තව දුරටත් විවේකී ස්ථානවලට කැමැත්ත හෝ ගසක් මුල විසීම ප්‍රිය නොවූ බව විස්තර වේ. මේ අනුව ඔහුට ඊළඟට වහාම කළ යුත්ත පිළිබඳ ප්‍රශ්නයක් පැන නැගී නැත. එහෙත් අසතිමත් වීම නිසා රාගය පහළ වීම හා ඊට අනුරූපව තමාගේ ජීවන රටාව නරකට පෙරළීම අනුව, අනුක්‍රමයෙන් සිවුරු හැර දැමීම දක්වාම කරුණු යෙදී ඇත. (සං.නි.2/416) ඒ අනුව සතිමත් බව මෙහි හුවා දක්වන ආකාරයට, තමා පිටත් වූ කාරණය ඉටු කරගැනීමට නොහැකි වීමක් ගැන සඳහන් නොවේ.

අසතිමත් වීම නිසා එම භික්ෂුවට තම භික්ෂුත්වය හා එහි වගකීම් අමතක වීද? කෙසේ නමුත් භික්ෂුවගේ වගකීම් හරි හැටි මතක තිබුණා නම් ඔහු කාන්තාව දෙස රාගනිඃශ්‍රිත ලෙස නොබලනු ඇත. සංයුක්ත නිකාය හා සංයුක්ත ආගම යන දෙකෙහිමද වෙනත් සූත්‍රයකට අනුවද සතියේ ප්‍රධාන කෘත්‍යය මෙය නොවේ. එම සූත්‍රයට අනුව, රජ කෙනෙක්ද සමාන අපහසුතාවකට පත් වේ. (සං.නි.4.228) රජතුමා තම අන්තඃපුරයට අසතියෙන් යුක්තව ඇතුළු වූ විට

රාගයෙන් මුසපත් වේ. එහෙයින් අසතිමත් වීම නිසා රාගයෙන් කෙලෙසීම කෙරෙහි යොමු වීම අනුව කෙනකු තමාගේ භූමිකාව අමතක කොට කටයුතු පැහැර හැරීමක් අදහස් නොකෙරේ. අසතිමත් වීම හෙවත් මුට්ඨස්සතිය නිසා රාගාදී කෙලෙස්වලට ඉඩ නොලැබීම පිළිබඳ ගාථා වැලක් සංයුක්ත නිකායේ සහ සංයුක්ත ආගම පොත්වල දක්වේ. ටිබෙට් පරිවර්තනද ඒවා එසේම රක්‍ෂණය කොට ඇත.

සංයුක්ත පාලි ගාථාවලට අනුව (සං.නි. 4.156) ඉතාමත් සවිස්තරව හා සූක්ෂ්මව, මෙසේ යමක් දකින අයකු දුටු දෙයෙහි දුටුමතින් නතර වීමට, අසන අයකු අසන දෙයෙහි ඇසූ පමණින් නතර වීමට අනුශාසනා කර ඇත.

(උදාන/ඛු.නි.142)

සංයුත්ත නිකාය පොතේ එය දක්වෙන පාඨය මෙසේය.

**''රූපං දිස්වා සති මුට්ඨා පියං නිමිත්තං මනසි කරොතො**
**සාරත්ත චිත්තො වෙදෙති - තඤ්ච අජ්ඣොස තිට්ඨති''**
**''තස්ස වඩ්ඪන්ති වෙදනා - අනෙක රූපා සම්භවා,**
**හිජ්ඣා ච විහෙසා ච - චිත්ත මස්සු පහඤ්ඤති,**
**එවං ආචිනතො දුක්ඛං - ආරා නිබ්බාන වුච්චති**

(සං.නි.4/156)

ශබ්ද -ගන්ධ රසාදියෙත් මේ ලෙසටම යෙදෙන බව එම මාලුඞක්‍ය පුත්ත සූත්‍රයෙහිම දක්වේ. මෙම ගාථාවලට අනුව ඉන්ද්‍රිය දමනය හා කාය සංවරය විශේෂයෙන්ම ගෙනහැර දක්වා නැත. ඒ අනුව, සිතේ රාගාදී කෙලෙස් පහළ වීමට ආසන්න කාරණය සතිය නොමැති වීම - ''**මුට්ඨස්සතිය**'' බව නිසැක ලෙස කියැවේ. අනෙක් අතට සතිය එළඹ සිටී නම්, දැකීමාදියෙහි කෙලෙස් විතර්ක පහළ කර නොගෙන සිටීමට ඇති හැකියාව කියැවේ.

මේ අනුව සතිමත් බවේ ආනිශංසය ගෙන හැර පෑම, අසතිමත් බවේ ආදීනව දක්වීම මගින් හුවා දක්වෙයි. සතිය එළැඹි විට

වර්තමාන චිත්ත ප්‍රවෘත්තියේ හරස්කඩ පිළිබඳව අවදි බවට අවබෝධය ලැබෙන අතර, කෙලෙස් ප්‍රවාහයට හසු නොවී සිටීමේ හැකියාවද ලැබේ. ඒ අනුව සතිමත් වූ විට දැකීම, හුදු (අත්) දැකීමෙන් නතර කළ හැකිය. ඒ අනුව ප්‍රයත්නය විය යුත්තේ, දැකීම වැළැක්වීම නොව පමණක් කෙලෙස් පහළ කර නොගෙන, කෙලෙසින් නොකිපී නොකෙලෙසී සිටීමයි. මේ අනුව සතියේ ආරක්ෂක කෘත්‍යය නම් වර්තමාන චිත්තක්ෂණය කෙරෙහි පූර්ණ අවදියෙන් යුක්තව කෙලෙසුන්ගෙන් නොකෙලෙසී සිටීම යයි අර්ථ කථනය කළ හැකිය.

## ආරක්ඛ පච්චුපට්ඨානා

ආරක්ෂාව වැටහෙන අයුරු- සංයුක්ත නිකායේ සහ සංයුක්ත ආගම යන පොත්වල දැක්වෙන රිළවකුගේ උපමාවකට අනුව සතියේ ආරක්ෂක කර්තව්‍යය මෙසේය. මෙම පරිවර්තනය සඳහා යෙදෙන්නේ සංයුක්ත ආගම පොතයි.

''හිමාලය පර්වතයේ ඉතා බෑවුම් සහිත, හිම සහිත සීත ස්ථාන ඇත්තේය. එම ස්ථාන රිළවුන්ට වඳුරන්ට පවා විසීමට හෝ ළඟා වීමට දුෂ්කරය. මිනිසුන් ගැන කියනුම කවරේද? තවත් සමහර තැන්වල රිළවුන්ට වඳුරන්ට විසීමට හැකි නමුත් මිනිසුන්ට පිවිසීමට නොහැක. තවත් තැන්වල රිළවුද වඳුරෝද මිනිස්සුද වාසය කරත්. දඩයක්කාර වැද්දෝ ලාටු වර්ග ගෙන ලී කෝටුවල තවරා රිළවුන් ගැවසෙන ස්ථානවල අටවා තබත්. දක්ෂ වඳුරෝ ඒවායින් වැළකී ඈත් වෙති. එහෙත් මෝඩ වඳුරන්ට ගැලවීමක් නැත. ළං වී අතින් අතගෑමෙන් අත එහි ඇලවේ. එය ගැලවීමට අනිත් අතින් උත්සාහ කරන විට අත් දෙකම එහි ඇලවේ. දත් කකුල් පාවිච්චි කිරීමෙන් වඩාත් ලාටුයෙහි ඇලවේ. කටින් අල්ලන්නට යෑමෙන් කටත් එහි ඇලවේ. අත් දෙක, පා දෙක, කට යන පස් අංගයම සමානව ඇලවේ. ලාටු ඇලවී ගුළි වෙන රිලවා ගුළි කර තැබූවාක් මෙන් දිස් වේ. වැදි දඩයක්කාරයා පැමිණ උඟ හෙල්ලයක අමුණාගෙන යයි.''

මීට සමාන්තරව විස්තර දක්වන සංයුක්ත නිකාය පොතේ මක්කට සූත්‍රයේ (සං.නි.5-1/270) මෙම නිදර්ශනය දක්වා, තමාගේ

සම්ප්‍රදායානුකූල ගෝචර භූමියෙන් පරිබාහිරව විසීමේ ආදීනව ලෙස මෙය ගෙන හැර දක්වයි. එනම්, යෝගාවචරයා සතර සතිපට්ඨානයෙන් තොරව විසීමේ ආදීනවයි. පාරම්පරික ගොදුරු බිමෙන් පරිබාහිර වීම යනු ඉඳුරන් පිනවීමේ ප්‍රවණතාවයි. එම වැයික්කිය මාරයාගේ රාජධානිය බව, බළ පෙදෙස බව, සංයුක්ත නිකාය වැඩි දුරටත් දක්වයි. බෞද්ධ උගැන්වීමට අනුව මාරයා යනු නිවන් ගමනට බාධා පමුණුවන්නාය.

ඉහත සංයුක්ත ආගම සූත්‍ර පරිවර්තනය තව දුරටත් කරුණු දක්වමින්, කෙනකු තමාගේ ගොදුරු බිමේ (සතිපට්ඨානයේ) විසීමේ අගය පහදා දෙයි. අසතිමත්ව පිණ්ඩපාතයේ වැඩි යට කී භික්ෂුවගේ සිද්ධියට අනුව, ඔහු ආචාර ගෝචර සම්පත්තියෙන් හා ඉන්ද්‍රිය සංවරයෙන් තොර වීම මේ අවාසනාවන්ත සිද්ධියට හේතුවයි. රාගනිඃශ්‍රිත දර්ශනයේදී සිතේ කාම රාග හටගනී. එම නිසා සැම අතින්ම ඇලීගන්නා භික්ෂුව මාරයාගේ වසඟයට ලක් වේ. එම භික්ෂුවගේ අසතිමත් බව නිසා, ස්ත්‍රියක දුටු මතින් ඉතා පහසුවෙන් කාමච්ඡන්දයට නතු වීම පුනපුනා දක්වා ඇත.

වඳුරාගේ උපමාවට අනුව සතියේ ආරක්ෂක කලාපයෙන් පිටදී කෙනෙක් ඉන්ද්‍රිය පිනවීමේ ලෝකයට ඇලේ. බැඳේ. වරක් ඇලුණ විට, බැඳුණ විට තවතවත් මෝඩ සිතිවිලි දිගේ මෝඩ ආභාසය දිගේ තවතවත් ඇලී බැඳී පැටලීගනී. හරියට වඳුරා සියලු අඟපසඟින් ලාටුවෙහි ඇලී පැටලීගන්නා සේය. මෙලෙස ලාටුවෙහි නොඇලී සිටීමට නම් සතිය නමැති ශිබරයෙහි වාසය ඇගට ගුණය.

සතිපට්ඨානයේ තවත් නිදසුනක්, රාජාලියකුට හසු වූ කැට කුරුල්ලකු තමාගේ ආරක්ෂාව පිණිස පාරම්පරික ගොදුරු බිම දැක්වීමට යෙදුණ සිද්ධියක් දක්වයි. සංයුක්ත ආගම පොතේ සූත්‍රයක දැක්වෙන්නේ මෙසේය. ඈත අතීතයේ දිනක කැට කුරුල්ලෙක් කෙතක විසීය. ඌ දිනක් රාජාලියකුට (කුරුළු ගොයකුට) හසු විය. රාජාලියා කැට කුරුල්ලා ඩැහැගෙන ඉහළ ආකාසයට පැන නැංගේය. ඉහළ ආකාසයේදී කැට කුරුල්ලා ''මම අවදියෙන් නොසිටි නිසා මෙම අනතුරට ලක් වීමි'' යි මුර ගා කීය. ''මම පාරම්පරික

ගොදුරු බිමෙන් දුරස් වීමි. අගෝචරයෙහි සැරිසැරුවෙමි. එම නිසා මෙම අනතුරට ලක් වීමි''යි පාපෝච්චාරණය කළේය. '' නැති නම් කෙසේ නම් උකුස්සකුගේ ග්‍රහණයට ලක් වෙමිද? දැන් ගැලවීමක් ඉදින් නැත.'' යි තමාටම දොස් කියාගත්තේය.

මෙය ඇසූ රාජාලියා ''මොකක්ද ඔබගේ නිදහස රැක දෙන ගොදුරු බිම''යි කැට කුරුල්ලාගෙන් ඇසීය. ''මාගේ පාරම්පරික ගොදුරු බිම නම් බිම් නැගුම පිණිස හාන ලද ගොවි බිමේ පස් පිඩැලි අතරයි. එහිදී මම ආරක්‍ෂාව ලබමි. අනතුරක් නැතැයි'' කැට කුරුල්ලා පිළිතුරු දුනි. රාජාලියාගේ වාගාඩම්බරය මතු විය. කැට කුරුල්ලාට කියනුයේ ''මම දැන් නුඹව නිදහස් කරනවා. අතහරිනවා. උඹේ ඔය ආරක්‍ෂක ගොදුරු බිමට නැවත පලයන්. උඹ හිතනවාද එහිදි නුඹට මාගෙන් ගැලවීමක් තියෙනවා  කියලා.'' රාජාලියාගේ අත්පහුරින් ගැලවීම ලද කැට කුරුල්ලා, අලුතින් බිම් නැගුම පිණිස හාන ලද කුඹුරක පස් පිඩැලි අතර කුඩා පස් පිඩැල්ලක් තුළට පියැඹුවේය. අනතුරුව දිනෙක කැට කුරුල්ලා පස් පිඩැල්ලක් උඩට නැංගේය. රාජාලියාට අභියෝගයක් දෙන්නට සිතුවේය. අභියෝගය ලත් රාජාලියා, මේ පුංචි කුරුල්ලා මට අභියෝග කරන්න තරම් ඔළමොළ යයි සිතීය. තරහ ගියේය. වහා ම ඌ අල්ලාගන්නට ඊයක් මෙන් පියැඹුවේය. එය දැනගත් කැට කුරුල්ලා වහාම ලොකු පස් පිඩැල්ල තුළට රිංගුවේය. ගොදුර වැරදුණු රාජාලියා පියාසැරියේ ජවය වැඩිකමට ලොකු පස් පිඩැල්ලේ පපුව වැදී අත්තටු විසිර මියැදුණේය. (සංයුත්ත නිකායේ (සං.නි. 5-1 / 268))

සූත්‍රයට අනුව කැට කුරුල්ලා රාජාලියාගේ අත්පසුරට හසු වී තමාගේ අවාසනාවන්තකමත් අකුසලතාවත් ගැන මැසිවිලි නැගූ මුත් තමාටම දොස් නගාගත්  බව නොකියැවේ. සංයුක්ත ආගම සූත්‍රය ඒ වෙනුවට තමාගේම පමාව (අසතිමත් බව) අනතුරට හේතුව වශයෙන් හුවා දක්වයි. මෙම දැක්වීමට  අනුව මේ නිදසුනේ ප්‍රධාන කාරණය වන්නේ, තමාගේ ගෝචර අජ්ඣත්තයෙන් - ගොදුරු බිමෙන් (සතර සතිපට්ඨානයෙන්) බැහැරව පමාවට වැටී නොසිටීම සතුරාට හසු නොවී සිටීමට හේතුව බවයි.

එම නිදසුනට අනුව සතිපට්ඨානයේ ආරක්ෂාව ක්ෂේම භූමියක් ලෙස දැක්වීම, කෙනකුට කාම නිඃශ්‍රිත අරමුණුවල වශී භාවයෙන් ගැලවී කටයුතු කිරීමට හැකි වීම අනුව, ඉහත උද්ධෘතයේ දැක්වෙන අසතිමත් බව කාමයට ඇදී යෑමට හේතු වන කරුණත් සමග අනුයාත වේ. අසතිමත් බව ඉදිරියේ පොරබැදිය නොහැකි තරම් වූ මෙම කාමාශාව, සතිමත් වීම හරහා යටපත් කළ හැකි දෙයක් බවට පත් වීම, එතරම් දුර්වල කැට කුරුල්ලාට බලවත් රාජාලියා ජයගත හැකි බව පෙන්වීමෙන් ස්ඵුට කෙරේ. කැට කුරුල්ලා සහ වඳුරා පිළිබඳ මේ උපමා දෙක, සතිමත් බව හරහා ලැබෙන ආරක්ෂාව හුවා දැක්වීම අතින් සමාපත වේ. අනෙකුත් සූත්‍ර දැක්වීම්වලට අනුවද සතිය එකම ආරක්ෂාවය. (අං.නි. 6/56)

මේ අනුව සතිය පිහිටුවීම හේතුවෙන් කෙනකුට බාහිර ලෝකයෙන් පැමිණෙන ඇලීම් බැඳීම් ප්‍රවාහ ඉදිරියේ නොසැලී සිටීමට, ගසාගෙන නොයෑමට ඇති ශක්තිය හා තහවුරුව ලැබේ. මේ පර්යේෂණාත්මක සොයාගැනීම්වල අන්තර්ගතය, සුත්ත නිපාතය හා සමාන්තර ''යෝගාචාර භූමි'' නමැති මහායාන පොතේ මෙසේ දැක්වේ.

**''යො සොතානි ලොකස්මිං සති තෙසං නිවාරණං** - සු.නි අජිත සූත්‍රය (ඛු.නි/ සු.නි. 1039 ගාථාව)

## සතිය දොරටුපාලක ලෙස

මහා පරිවාර නගරයක නගරද්වාරයේ දොරටු පාලකයකුට උපමා කිරීමෙන් සතියේ ආරක්ෂක කෘත්‍යය වෙනත් ආකාරයකින් ගෙන හැර දැක්වේ. උපමා දෙකකින් (සං.නි.4/368) දැක්වෙන උද්ධෘතය මෙසේය. පරිවාර රටක රජෙක් තම ඇතුළු නුවර හොඳ හැටි ආවරණය කරන ලද කොටු බැම්මකින් ආරක්ෂා කොට, දැඩි ශක්තිමත් මුරකාවල් තබා, ඍජු සම පිවිසුම් මාර්ග සාදා තබයි. එසේම හෙතෙම මුරකාවල් සඳහා දොරටු පාලකයන් සිව්දෙනකු සතර මුර කවුළුවලට පත් කරයි. ඒ සෑම දොරටු පාලකයෙක්ම දක්ෂය. කඩිසරය, එහි යන්නන් එන්නන් ගැන විමසිලිමත්ය. එම නගරයට පිවිසුම් මාර්ග

සතරකි. ඒ මාර්ගවලින් නගරාධිපති සිටින මණ්ඩපයට ළඟා විය හැකිය. ඉදින් පෙරදිගින් පණිවුඩකරුවෙක් පැමිණෙන්නේ, දොරටුපාලගෙන් මෙසේ විමසයි.

''මෙම නගරයේ නගරාධිපති කොහේද?''

''නගරාධිපති නගර මධ්‍යයේ සතර දිශාවෙන් පැමිණෙන මාර්ග එකතු වන ස්ථානයේ මණ්ඩපයේ වැඩ සිටී'' දොරටුපාල පිළිතුරු දෙයි.

පණිවුඩකරු එය අසා දැනගෙන නගරාධිපති හමුවේ පණිවුඩය ඔප්පු කොට ලැබෙන ප්‍රතිචාරයද රැගෙන ආපසු මාර්ගයට බසී. එසේම දකුණු දෙසින් ... බටහිර දෙසින්... උතුරු දෙසින්, පණිවුඩකරුවෝ පැමිණ ඒ ඒ දොරටු පාලකයන්ගෙන් මෙසේ විමසති.

''මෙම  නගරයේ නගරාධිපති කොහෙද?''

''නගරාධිපති නගර මධ්‍යයේ සතර දිශාවෙන් පැමිණෙන මාර්ග එකතු වන ස්ථානයේ මණ්ඩපයේ වැඩ සිටී'' යි දොරටුපාල පිළිතුරු දෙයි. පණිවුඩකරු එය අසා දැනගෙන නගරාධිපති හමු වෙයි. පණිවුඩය ඔප්පු කොට, ලැබෙන ප්‍රතිචාරයද රැගෙන ආපසු පැමිණි දිශාවටම යයි.

සංයුක්ත ආගම පොතට අනුව සතර දිගින් පැමිණෙන සතර පණිවුඩකරුවන් සතර සතිපට්ඨානයයි. සංයුක්ත නිකාය නිදර්ශනයේ දොරටු පාලකයන් එක් කෙනකු ගැන සඳහන් වන අතර, හෙතෙම සතිය නිරූපණය කරයි. ටිබෙට් ජාතික පොතේ සඳහන් වන අන්දමට, තුන්වන පැතිකඩක් දක්වමින් එහි තනි දොරටු පාලකයකු ලෙස දක්වා ඇත. හෙතෙම කය පිළිබඳ සිහිය හෙවත් කායගතා සතිය නියෝජනය කරයි.

එසේම සංයුක්ත ආගම පොතේ පණිවුඩකරු විපස්සනාව ලෙස දක්වා ඇති අතර, සංයුක්ත නිකාය සහ ටිබෙට් පොත්වල එය ''සමථ විපස්සනා'' ලෙස නම් කිරීම මෙහි දැකිය හැකි වෙනසකි.

පණිවුඩකරු තනි විපස්සනාව වුවද සමථ විපස්සනා යයි දෙකක් වුවද මෙම නිදර්ශනයට අනුව දොරටු පාලකයාගේ කෘත්‍යය පණිවුඩකරුට නගරාධිපති හමු වීමට පාර කියා දීමයි. නගරාධිපති යනු විඤ්ඤාණය ලෙස සෑම පොතක්ම පොදුවේ නම් කරයි. දොරටු පාලක ලෙස මෙහි ලා දක්වෙන සමථය හෝ විපස්සනාවම සතියේ ඇති මනසිකාර කෘත්‍යය ලෙස ගෙන හැර දක්වයි. සතිය කායානුපස්සනාව පමණක් හෝ වේවා, සතර සතිපට්ඨානයම වේවා, එය උපයෝගී කරගෙන කෙනකු සමථ විපස්සනා වැඩීමට නිවැරැදි ප්‍රතිපදාවට පත් වන බව වටහාගත යුතුය.

මෙම නිදර්ශනය අනුවත් මෙසේ සතිය මධ්‍යම ප්‍රතිපදාව දිගේ ප්‍රගමනය කිරීම සහතික කරන අතර, වැරදි මග යෑමට ඉඩ නොදී ආරක්ෂා කිරීමේ කෘත්‍යය කර දෙන්නක් ලෙස සැලකීම නිසා සිතට ලොකු පහසුවක් සලසා දෙයි.

අංගුත්තර නිකායේ මෙන්ම, එහි මහායාන මධ්‍යම ආගම පොතේද එන තවත් නිදසුනක්, සතිය දොරටු පාලක කෘත්‍යය කර දෙන ආකාරය ඉස්මතු කොට දක්වයි. මධ්‍යම ආගම පොතේ මෙසේ සඳහන්ය. ''පරිවාර නගරයක රජු තමාගේ ප්‍රධාන ඇමතිවරයකු ද්වාර පාලක ලෙස පත් කරයි. ඔහු කඩිසර දක්ෂ කෙනකු ලෙස විනිශ්චයෙහි යෙදේ. හෙතෙම එඩිතරය, පෙරදැක්මක් සහිතය. හොඳ තානාපතිවරයෙකි. හොඳ හිතවාදී ඇත්තන් ඇතුළු කරන අතර, නරක අය බැහැර කරයි. ඒ අනුව නගරය තුළ සාමය ආරක්ෂා කරන අතර, බාහිර සතුරන් දමනය කරයි.''

මෙලෙස සේඛ පුද්ගලයා නිරන්තර සතියෙන් යුක්තව වාසය කරයි. සම්මා සතිය උපායගනී. බොහෝ කලකට පෙර කළ කී දෑ, ඇසූ විරූ දෑ පිළිබඳව නිතර සිහිය එළඹ සිටී. සිහි මුළා වීමක් නැත.

මේ සේඛ පුද්ගලයා දොරටු පාලකයකු ලෙස, ප්‍රධාන ඇමතිවරයකු ලෙස සතිය උපයන මුවාවෙන් අකුසල් බැහැර කරයි. කුසල් වඩයි. අපේ අංගුත්තර නිකාය පොතේ දක්වෙන පරිදි මෙම දොරටු පාලකයා වන සතිය බොහෝ කලකට පෙර ඇසූ විරූ, කළ

විරූ දේවල් සිහි කිරීමේ හැකියාව දක්වයි. (අං.නි.4 /440) මෙම නිදර්ශනවලට අනුව පෙර ඇසූ විරූ, කළ විරූ දේවල් නැවත සිහි කැඳවීමේ හැකියාව අලුත් මතක ගෙන හැර දක්වයි.

ප්‍රථමයෙන් තමාගේ ජීවිත කතාව හා සම්බන්ධ පැරණි මතක කියැවේ. පෙර ඇසූ විරූ දෑ මතක් කිරීමේ හැකියාව, පැරණි ඉන්වය බහුශෘත භාවය දක්වයි. පෙර විසූ භාණක භික්ෂූන් වහන්සේලා මෙලෙස කටපාඩම් කොට මතක තබාගැනීමේ දක්ෂතාව හරහා බුද්ධ වචනය හා දේශනා මතු පරපුරට දායාද කළෝය. මේ අනුව, පැරණි බුදු දහම හා අප්‍රමාද ප්‍රතිපදාව, බොහෝ කලකට පෙර කළ කී දෑ මතකයේ තබාගැනීමේ මෙම හැකියාව මත ප්‍රායෝගිකව රඳා පැවති බව පහසුවෙන් වටහාගත හැකිය.

## සතිය හා මතකය

ඉහත දක්වෙන ලද නිදසුනෙහි සඳහන් මතක වෙතින් සිහි කැඳවීම් වර්ග දෙක අතර වෙනස බැලූ බැල්මට එතරම් පැහැදිලි නැත. උපමා උපමේය ගැළපීම අනුව ද්වාර, පාලකයාගේ සතිය නරක දේ දුන ඇතුළට නොගැනීමේ සහ හොඳ දේ ඇතුළට ගැනීමේදී සිදු කරන වාරණය පැහැදිලිය. මතකය මෙහි ලා කරදෙන කර්තව්‍යය වටහාගැනීමට තව දුරටත් එය විමසා බැලීම වටී.

ඇතුළතට ගත යුතු සහ නොගත යුතු අය පිළිබඳව හෝ එහි ලා අවශ්‍ය සුදුසුකම් පිළිබඳව දොරටු පාලකයා තම අතීත මතකය මත රඳා පැවතීම, සාමාන්‍යයෙන් කොතනකටත් අදාළය. දොරටු පාලකයාගේ රාජකාරිය හෝ එදිනෙදා කටයුතු යයි විශේෂයක් නොමැත. දවසේ වැඩ නිම වී ආපසු නිවස බලා යන මග දැනගැනීමට එය අවශ්‍ය වනවා සේම, හෙටත් උදයේම නැවත මුරපොළට පැමිණීමටද මගේ මුරපොළ මගේ රැකියාව යන මතකය අවශ්‍යය.

මෙලෙස මතකය සම්බන්ධයෙන් සිතේ ක්‍රියා කරන චෛතසිකය සඤ්ඤාවයි. සඤ්ඤාව වර්තමාන අත්දැකීම් තුළින් ගත් දේ පැරණි අදහස් සමග ගැළපීම, සැසඳීම කරයි. මෙය සියලුම

මානසික තත්ත්වවලට එක සේ වැදගත් වේ. මේ අනුව කිසිම සචේතනික ක්‍රියාවක් මෙලෙස පැරණි අත්දැකීම්, අදහස් හා මතවලින් තොරව සිදු වෙන බවක් සිතීම පවා උගහටය. මෙලෙස මෙම අතීත මතක, අදහස් හා සිතැගි වර්තමාන සතිය සමග ගැළපීම එක අතකින් ප්‍රශ්නකරය. මක්නිසාද යත්, සතියට එවැනි කිසිම අතීත මතකයක් හෝ එවන් අදහසක් නොමැතිව ස්වෛරීව කටයුතු කළ හැකි නිසාය. මෙලෙස සතියේ නෛසර්ගික ලක්‍ෂණ පිළිබඳ මනා වැටහීමක් ලබාගැනීමට නම්, මා හිතන්නේ, මෙම මූලික ඉගැන්වීම අනුවත්, සතිය වනාහි කෙනකු විශිෂ්ට උත්සාහයෙන්ම උපයා සපයා ගත යුත්තක් බවයි. මෙහි දක්වෙන කාරණාවලට අනුව හුදු සංකල්ප නැවත සිහියට නැගීම සතියේ අත්‍යන්ත අංගයක් ලෙස අවධාරණයෙන් නොකියවේ. ඉහත දී ඇති නිදසුනට අනුව, ද්වාර පාලකයාගේ රාජකාරියේ හඳුනාගැනීමේ හැකියාව මතු කර නොදක්වන අතර, යහපත් අය ඇතුළු කරවීමටත් අයහපත් අය පිටමං කිරීමටත් ඇති හැකියාව අවධාරණය කරයි.

වෙනත් පැත්තකින්, දොරටු පාලකයාට තම රාජකාරිය කුමක්දැයි මතක් කර දීමම මතකය හා සම්බන්ධ කොට මෙහි දක්වයි. මෙය නිදසුන අනුව යතත්, ඊට පසුව කෙරෙන විස්තරවලට අනුව එම සම්බන්ධය එතරම් පැහැදිලි නැත. ඒ විස්තරයට අනුව නිදසුන ගෙන දක්වන උපමේය නම්, සතිය අනුව කෙනකුට බොහෝ කලකට පෙර සිදු වූ දෙය මතක තිබීමයි. මෙය කෙනකු විසින් කළ යුතු ඍජු සම්බන්ධයක් නොදක්වයි.

මේ තාක් කරුණු අසතිමත් බව නොදක්වන ඡේදයේ දක්වේ. එහෙත් කෙනකු පිටත් වූ කාරණය කුමක්දැයි අමතක වීමක් ගැන නිදසුනේ නොකියවේ. දොරටු පාලකයාට තමා කළ යුතු රාජකාරි ක්‍රියාවක් කිරීමේ ලා, එනම් හොඳ අය ඇතුළත් කර ලීමටත් නරක අය ඇතුළත් නොකිරීමටත් නගර ද්වාරයේ සිදු වෙන දෑ සම්බන්ධයෙන් අවධානය අවශ්‍යය. මේ මොහොතේ කවුරුන් නගරයට ඇතුළු වන්නේදැයි යන්න පිළිබඳ අවධානය අතීත මතක නිසා වල්මත් නොවිය යුතුය. මේ අනුව මට නම් වැටහෙන්නේ, ද්වාර පාලකයාගේ සතිය හෙවත් වර්තමාන මොහොතට එළඹ සිටීම, නරක අය පිටුවහල්

කරලීමේ ලා සෘජුව අවශ්‍ය වන ලක්ෂණය බවයි. එලෙස දොරටු පාලකයාගේ නිදසුනේ දක්වෙන සතියේ ආරක්ෂක කෘත්‍යය, වඳුරාගේ සහ කැට කුරුල්ලාගේ උපමාවේ දක්වෙන කෘත්‍යයට සමානය.

මේ අනුව සතිය හා නැවත මතකයට නැගීම අතර සම්බන්ධය එක් කිරීමේදී (ගොඩනැගීමේදී) වර්තමාන මොහොතට පූර්ණ ලෙස අවදි වීම සඳහා අතීත මතකයට පිවිසීමට පහසු වීම තුළින් ස්වාභාවිකවම මතු වේ. කෙනකුට තමා දන්නා දේ පමණක් සිහි කැඳවීමට සතියට හැකියාව තිබේ. දැනීම වැඩිම නම් සිහි කැඳවීම වඩාත් සාර්ථකය. සතිය පිහිටුවී නම්, අතීතයේ කළ කී දෑ කොතරම් ඈත අතීතයේ වූවත් මතක් කිරීම පහසු වේ.

ආරක්ෂක දොරටුවේ සිදු වෙන දේ සම්බන්ධයෙන් දැනගැනීමට නම් දොරටු පාලකයා සිය මොහොතට එළැඹ සිටීම සවිස්තර හා පුළුල් විය යුතුය. එහි ලා ඔහු වෙත පැමිණෙන එක් කෙනකුට පමණක් වැඩි අවධානයක් යොමු කිරීමට යෑමෙන් දොරටුවේ එහා මෙහා යන එන අන්‍යයන් ගැන නොසලකා හැරිය නොහැකිය. ප්‍රධාන දොරටු පාලකයාගේ නිදසුනට අනුව, තමාගේ දොරටුව වෙත වූ අවධානය නිසා සමස්තයක් ලෙස එහි සිදු වන සියල්ල වෙත අවධානය සීමා යොමු නොවේ. එලෙස පවතිද්දීත් ඔහු පණිවුඩකරුට නගරාධිපති හමු වීමේ මාර්ගෝපදේශය නිවැරදිව කරයි. ඒ අතරම, දොරටුවේ රැඳී සිටින අතර වර්තමානයේ සිදු වෙන සියල්ල කෙරෙහි අවධානය යොමු කිරීමේ යුතුකම පැහැර නොහැරීම අනුව, හොඳ යහපත් අයගෙන් අයහපත් නරක අය වෙන් කරගනී.

ප්‍රායෝගිකව මෙයින් අදහස් වන්නේ, කෙනකු නිසි අවධානයෙන් යුක්තව යමක් කරන්නේ නම් එය පසුව මතක් කිරීමට පහසු බවත් ඒ අනුව සතිය ආරක්ෂා වන බවත්ය. භාවනා ශාලාවට ඇවිදගෙන යන ගමන් මට ගමන ගැන සතිමත් විය හැකි වනවාක් මෙන්ම, සිත පිට යෑම නිසා සිතිවිලි අතරේ අතරමං වීමත් පිළිගන්නා අතරම මතක සටහන්වල ගැලී සිටීමකුත් නැත. ඒ අතර අනුක්‍රමයෙන් මා භාවනා ශාලාවට ළඟා වුණි නම්, මා ගමන සිදු කළ බව පැහැදිලිය. මා ගමන ගැන සතිමත් නොවුණි නම්, මට ගමන් කළ ආකාරය පිළිබඳ

මතකය අවදි කළ නොහැකි විය යුතුව තිබුණි. මේ සිද්ධියට අනුව, මා දූන් භාවනා ශාලාවට ළඟා වී ඇති නිසා මගේ ගමන සිදු වී ඇති බව අනුමාන කළ හැකිය. ගමන ගැනම සතිමත් වූවා නම්, ගමනේ විස්තර ව්‍යංජන අනුව්‍යංජන සහිතව මතක් කළ හැකි බවක් නැතත් භාවනා ශාලාවට ළඟා වීම මතක් කළ හැකි වීමෙන් පෙනෙන්නේ, එම ක්‍රියාවලිය පිළිබඳ අත්දැකීම අත්විඳීම අවධානයෙන් සිදු කළ බවයි. සතිමත් නොවුණද, ගමනේදී යම් ප්‍රමාණයක අවධානයක් තිබිය යුතුය. එසේ නොවුණහොත් මග වැරදීම හෝ පියවර මාරු කිරීමේ අපහසුතා මතු වනු ඇත. පුරුද්දට කරන මෙවන් කටයුතු සඳහා අවශ්‍ය කරන අවධානය එතරම් ගැඹුරු එකක් නොවේ. සිතේ බොහෝ විට අමතර දේවල් යෙදී තිබීම සාමාන්‍යය. (උදාඃ දවල් සිහින, පැරණි මතක, ඉදිරි සැලසුම්). යමකු සක්මන් භාවනාව කරද්දී සතිය පියවරෙහි යොදා ගමන් කරන විට සිත විවෘත නම්, සාදර නම්, පියවරේ අත්දැකීම අත්දකින අතරම, එහි විස්තරද නිවැරැදිව දැනගනී. මෙලෙස අවධානයෙන් යුක්තව ගමන් කරන විට මනසිකාරය විචිත්‍රය. සමස්තය දැනගන්නා අතර, එකකට පමණක් සිත ආපාතගත වී ඉතිරිය සිතින් ගිළිහී යෑමට ඉඩ ඇත. මෙවන් විවෘත සාදර අවදි බවක් ඇත්ත වශයෙන්ම සක්මනේදී සිදු වී, පසුව සිහි කර බැලීමේදී මතකයට නැඟී ආ හැකිය. මේ පුළුල් අවදි බවක් සාදර බවක් ඇත්ත වශයෙන්ම සිදු වුවහොත්, පසුව මතක් කර බැලීමේදී තමාටම එහි වෙනස වැටහෙන තරම්ය.

මේ අනුව, අත්දැකීමේ ගැඹුර හා පුළුල් බව එකිනෙකට සම්බන්ධ වී ඇත. හොඳින් සතිමත්ව, ප්‍රතික්‍රියාවලින් තොරව, විනිශ්චයවලින් තොරව සිටින විට, සිත ප්‍රපඤ්ච කිරීමෙන් තොරවම වර්තමාන මොහොතේ විවිධ පැතිකඩ දැක බලාගැනීම විෂයෙහි මනසිකාරය ඉබේ ඇදී යයි. එවන් අවස්ථාවලදී සිත විසිතුරු විවිධ ආකාර සහ ස්වාභාවික ලක්ෂණ උකහාගනී. එය පිරිසිදු කාචයක් සහිත කැමරාවකින් ගත් ඡායාරූපයක් සේ තහවුරු ලෙස පැහැදිලි විස්තර සහිතය. සතිපට්ඨාන භාවනාව පැත්තෙන් බලන විට, එහිදී මතක තබාගැනීම කෙරෙහි සමස්තයක් ලෙස සතිය දක්වන පහසුකම, දක්වන අවධානයේ තීව්‍රතාවත් පුළුල් බවත් වර්තමාන සංසිද්ධියට ලබාදීම නිසා වැටහීම සරු වීම හේතු කොට ගෙන පසුව මතක්

කිරීමට පහසුව සලසයි. වර්තමාන මොහොතේ සතිය එළඹ සිටීමේ මෙම නිවැරදි බව අනුව විවිධ සතිපට්ඨාන හරහා ඉදිරි සම්බන්ධතා ගොඩනැංවේ. තමාගේ ශරීරය පිළිබඳ අවදිය හා සිතේ වර්තමාන හරස්කඩ යන මේවා හරහා සම්බන්ධතාව ගොඩනැංවේ.

සතියේ ඇති වර්තමාන අත්දැකීමේ ගුණාංග, යමක් සිත තබා ගැනීමේ ගුණාංගයට අමතරව, එය මතක සටහන් ගබඩා කරනවාටත් වඩා ඇති සහසම්බන්ධතා පසුව මතකයේ ගැළපීමටද උපකාරී වේ. මේ රචනයේ ප්‍රථම කොටසේ ලා යෝජනා කළ පරිදි සතියේ මෙම ගුණය වඩාත් ප්‍රකට වන්නේ, කෙනකු යමක් සඳහා අධික අවධානයක් යොමු කර මතක් කරන විටෙක එය යළි මතකයට නගාගැනීමට අපහසු වන අවස්ථාවකදීය.

ප්‍රශ්නය පසෙක තබා සිතට නිසි නින්දේ විවෘතව පුළුල් ලෙස එය සිතන්නට හැරීමෙන් ඉබේටම එම කාරණය මතක් වේ. සතියේ ඇති මෙම අතීත මතකය වෙත සිහි එළවීමේ කෘත්‍යය, අනුග්‍රහ කිරීම හෙවත් අනුස්සතිය, සතිපට්ඨාන භාවනාවට ඇති ඍජු සම්බන්ධය දුර්වලය. මේ පැතිකඩ දෙක බොහෝ පොදුවේ භාවනාවට අදාළ නමුත් සතිපට්ඨාන භාවනාවේදී වඩා කැපී පෙනෙන්නේ අපිළාපන ලක්ෂණය හෙවත් එළඹී මොහොතට, අරමුණට කිඳා බසින ගුණයයි. නොඉලිප්පෙන ගුණයයි. එහි ලා සතියේ කෘත්‍යය ලෙස අතීත මතක සිහිපත් කිරීමට වඩා සතිපට්ඨානයේදී වැදගත් වන්නේ, තම ශරීරය වර්තමාන වශයෙන් ගවේෂණය කිරීම, වර්තමානයේ විඳින විදීම හා සිතේ වර්තමාන ක්‍රියාකාරිත්වය පිළිබඳ ගවේෂණයයි. මෙලෙස වර්තමාන මොහොතේ අවදි භාවය සතිපට්ඨානයේදී වඩනු ලබන අතර, එය මාර්ග අංගයක් ලෙස යෝගියා නිවනට යොමු කරවයි.

ඉදින්, සතිය හුදු අතීත මතක සිහිපත් කිරීමටම සීමිත වී ඇත් නම්, සතිපට්ඨානය කොටස් සතරක අනුපිළිවෙල ක්‍රියා මාර්ගයක් හරහා සම්මා සතිය වර්ධනය කිරීමක් අවශ්‍ය නැත. අතීතය සිහිපත් කිරීම දියුණු කිරීමට නම්, සූත්‍ර-පාලි කටපාඩම් කිරීම, එනම්, අනාගත පරපුරට බුද්ධ වචනය ගෙන යාම සඳහා අතීත බුදු දහමේ කෙරුණු ආකාරය හොඳටම ප්‍රමාණවත්ය. වේද ශාස්ත්‍ර හා මන්ත්‍ර පරපුරෙන්

පරපුරට ගෙන යෑමේදී භාවිත කළ ඒ ක්‍රමයට අනුව, ඔවුන්ගේ ප්‍රධානතම පුහුණුව වූයේ මතක තබාගැනීමේ හැකියාව දියුණු කිරීමයි. මනුස්මෘති උගැන්වීම්වලට අනුව අතීත ආත්මභාව දැකගැනීමට නම් වේද මන්ත්‍ර කටපාඩම් කොට සිතේ තබාගැනීම, තපස හා චර්යාව මෙන්ම අවශ්‍යය. සතිපට්ඨාන භාවනාව අනුපිළිවෙලින් මෙලෙස ඉදිරිපත් කිරීමෙන් පෙනී යන්නේ, මුල් බුදු දහමට අනුව සතිය යනු අතීතය සිහි කිරීමේ හැකියාව පමණක් නොවූ බවය. සතිය සතිපට්ඨානයේ ලා අතීතය මතක් කිරීමේ කෘත්‍යය ඉස්මතු කර නොදක්වනවා මෙන්ම, එලෙස මතක් කිරීමේ කෘත්‍යයෙහි සක්‍රිය ලෙස යෙදී ගත කිරීම අවධාරණය කර දක්වන්නේද නැත. අනෙකුත් (මහායාන) පොත්වලද විවිධ (සතිපට්ඨාන) භාවනා ක්‍රමවල සතිය ගැන දැක්වීමේදී ඒ ඒ ක්‍රමවල සාර්ථක නිමාව සතිය තව දුරටත් තහවුරු කර ලීමට යොමු වන බවක් වැටහේ. මේ ක්‍රම සතිය සක්‍රිය අභ්‍යාසයක් ලෙස ඉදිරිපත් නොකරයි. ඒ වෙනුවට අප්‍රමාදීව ආසන්නව මනසේ එළඹ සිටීම, සාදර බව, සතියෙන් ලැබෙන අනුග්‍රහය ලෙස ඒ ඒ භාවනා කරන විට සතිය විසින් සිදු කර දෙනු ලැබේ.

පාලි වාග්මාලාව අනුව, සතිපට්ඨාන සූත්‍රයේ ඍජු අනුශාසනාව අනුව, සතිපට්ඨාන භාවනාවට අදාළ ක්‍රියාකාරකම්වලදී යෝගාවචරයා **පජානාති** ''දැනගනී.'' **පච්චවෙක්ඛති** ''සලකා බලයි.'' **උපසංහරති** - ''සසඳා බලයි''. මෙම සලකා බැලීම, සසඳා බැලීම, මුල් සතිපට්ඨාන ක්‍රම තුනට (ඖළාරික කායානුපස්සනාවට) සාධාරණය. එනම් ඉතිරි සියුම් සතිපට්ඨාන ක්‍රමවලදී යෝගාවචරයාගේ කාර්යය **පජානාති** - ''දැනගැනීමයි''. එවන් දැනගැනීම, සලකා බැලීම හා සසඳා බැලීම, මනසේ සතිය පිහිටුවීම, වර්තමානයේ ශක්තිමත්ව අතපය දිගහැර සිටීම තුළ සක්‍රිය වේ. මේ අනුව, සතිපට්ඨානය යනු සතිය තහවුරුව පිහිටුවීම හා ආරක්ෂා කිරීම ප්‍රධාන කරගත් කෘත්‍යයකි. වෙනත් විධියකට කිවහොත් සතිය යමකු කරන දෙයක් නොවේ. වඩාත්ම නිවැරදිව කිවහොත් සතිපට්ඨානය යනු සතියෙන් සිටීමට (සතිය මුල්තැන සිටීමට) ගන්නා මෙහෙයුමකි.

මෙලෙස සතිමත් වී සිටීම බොජ්ඣංගයක් වේ. මෙසේ වටහාගත් විට සතර සතිපට්ඨාන යනු බොජ්ඣංගය තහවුරු භාවයට ගෙන ඒමට කරන ප්‍රයත්නයකි. මේ අනුව අනුගාමී බොජ්ඣංග පෙළගැසෙන අතර, ඒ අන්දමින් බෝධිය සාක්ෂාත් වීම සිදු වේ. මෙහිදී ඇති ප්‍රධාන ගුණය නම් වර්තමානයට එළඹ සතියෙන් සිටීමයි.

වර්තමානයේ සතිය එළැඹ වාසය කරන විට, මනසේ ප්‍රබුද්ධ ධර්ම අවදි වීමටත් වඩා, එදිනෙදා ජීවිතයේදී හමු වන ලෝක ධර්ම ඉදිරියේ අනතුරකට ලක් නොවී සිටීමේ හැකියාවද ලැබේ. සතියේ මෙම ගුණාංගය සංයුක්ත නිකායේ එන රථයක උපමාවේ රථාචාර්යවරයාට සම කර දක්වයි. සංයුක්ත ආගම පොතේ එයට සමාන්තර සූත්‍රයක මෙය සම්මා සතිය ලෙස දක්වා ඇත. එය මෙසේය. සම්මා සතියෙන් ආඪ්‍ය නම්, හරියට හොඳ දක්ෂ රථාචාර්යවරයෙකු වගේය. සති ආරක්ඛ සාරථී (සං.නි. 5-1/10)

මෙහි දැක්වෙන කරුණ පිළිබඳව තව දුරටත් සිත යොදා බලන විට, හොඳ පරෙස්සම් සහගත රථාචාර්යවරයා සියල්ලටම පළමුව වර්තමාන මොහොතට එළඹ සිටී. මුහුණ දී ඇති වගකීමට බාහිර කරදර අවහිරයක් කර නොගනී. සම්පූර්ණයෙන්ම එළඹ සිටීමෙන් රථාචාර්යවරයාට බාහිර කරදර, අනෙකුත් මාර්ග හා වාහන තදබදය පිළිබඳ අවබෝධය ලැබේ. තමා ඇස් පනාපිට පෙනෙන දේ දන්නවා පමණක් නොව, පැත්තෙන් හා පසුපසින් එන දේවල්ද ප්‍රමාණයකට සොයා බලයි. රථය වර්තමානයේ හැසිරවීම හා වාහන පැදවීම නිසියාකාරව දිශාගත වී ඇත. ඔහු ගමන යා යුතු තැන දනී. ඇති මාර්ග බාධා, ඉලක්කය කරා යෑමේ කඩිමුඩිය නිසා ඉච්ඡා භංගත්වයට පත් නොවීමට වග බලාගනී. දිසාව නොදැනීම අනතුරුදායක විය හැකිය. රථාචාර්යවරයා යා යුතු තැන නොදැනීම, අවස්ථානුකූලව වර්තමාන භාවනාව හසුරුවාගැනීමට බැරි තරම් භාවනාවේ ප්‍රතිඵල අපේක්ෂා කිරීම හා සමානය. මේ සියල්ල තමාගේ සතිපට්ඨානයට කෙළින්ම අදාළ දිසාව දැනගැනීමට වුවමනාවට වඩා ප්‍රතිඵල අපේක්ෂා නොකිරීම හා ගළපා සැසඳිය යුතුය. සියල්ලටම මූල වර්තමානයට එළැඹ සිටීමයි. එහි ලා සතියට පැහැදිලි බව සහ පුළුල්

බව සහයෝගී විය යුතුය. කොටින් කියතොත්, වර්තමානයට එළඹ විසිය යුතුමය. සතිමත් විය හැකි විවිධ ක්‍රම සතර සතිපට්ඨානයේ විස්තර වේ.

## සමාලෝචනය

සතිය නොමැති වීම නිසා පුද්ගලයා පඤ්චකාම ගුණයෙහි ඇලී ගැලී පැටලීගෙන මෝඩ වඳුරකු ලෙස විනාසයට පත් වෙයි. ඔහුගේ අවධානය රාග නිඃශ්‍රිත අරමුණුවලට වශී වීමෙන්, තමාගේ පාරම්පරික ගොදුරු බිම ඉක්මවා ගිය කැට කුරුල්ලකු ලෙස ගොදුරක් බවට පත් වේ. යෝගාවචර ගොදුරු බිම නම් සුපතිට්ඨිත සතියයි. එය දක්ෂ දොරටු පාලකයකු ලෙස තමාගේ සිත ආරක්ෂා කරයි. මේ බව හොඳින් වටහාගන්නා තැනැත්තා පසු කලෙක මේ සියල්ල මනා කොට සිහිපත් කරයි.

# උද්ධෘත පාඨ ලැයිස්තුව

01. ''**සතානුසාරී**'' බෝධිසත්වයන් වහන්සේ තම තරුණ අවධිය සිහි කිරීමේදී (ම:නි; 1/582)
''**සතිමුටඨා**'' අමතක වීම යන තේරුමින් (ම:නි; 1/770)
''**සතිඋදපාදි**'' සිහිපත් වීම (ම:නි; 2/550)
''**සතිඋදපාදි**'' සිහිය උපන, (දී:නි; 1/390)
''**න සරාමීති අසතියාච නිබ්බෙඨෙති**'' (අං:නි; 5/72)

02. ''**අනුස්සති පටිස්සති සති සරණතා ධාරණතා**'' (ධ:ස; 52)
''**අනුස්සති පටිස්සති සති සරණතා ධාරණතා**'' (පු:ප; 292)
''**අනුස්සති පටිස්සති සති සරණතා ධාරණතා**'' (වි:ප;224)
''**සරන්ති තාය සයං වා සරති සරණමත්ත මෙව වා එසාති සති**'' (වි:ම; 347 හේ:මු)
''**...කෙන අතීතං චිරකතං සරතී' ති සතියා මහරාජා'ති**'' (මි:ප; 74)
''**සරණ ලක්ඛණාසති**'' (වි:ම; 119)

03. ආනන්ද ස්වාමීන් වහන්සේගේ පාණ්ඩිත්‍යය හා නුවණැති බව පිළිබඳ වර්ණනාවක් ''**එතදග්ගං භික්ඛවෙ මම සාවකානං භික්ඛුනං... සතිමන්තානං යදිදං ආනන්දො**'' (අං:නි; 1/48)
සූත්‍ර පිටකය ප්‍රථම සංගායනාවේදී ආනන්ද ස්වාමීන් වහන්සේ විසින් දේශනා කරන ලද බව, (චු:පා; 550)

04. **බුද්ධානුස්සති, ධම්මානුස්සති, සඞ්ඝානුස්සති, සීලානුස්සති, චාගානුස්සති, දෙවතානුස්සති** (අං:නි; 4/10)

05. **පුබ්බෙනිවාසො භික්ඛවෙ සතියා සච්ඡිකරණීයො** (අං:නි; 2/354)
''**තථාගතං ආරබ්භ අජ්ඣත්තං සතිං උපට්ඨාපෙතබ්බා**'' (අං:නි; 6/632)

**බුද්ධානුස්සතියා සතො, ධම්මානුස්සතියා සතො,**
**සඞ්ඝානුස්සතියා සතො, සීලානුස්සතියා සතො,**
**චාගානුස්සතියාසතො, දෙවතානුස්සතියා සතො** (චු:නි; 86)
''**සතියෙව අනුස්සති**'' යයි සියල්ල පිඬු කර දැක්වීම (වි:ම; 145)

06. **එකං බුද්ධගතං සඤ්ඤං අලභිත්ථං පතිස්සතො,**
**තස්ස සඤ්ඤාය වාහසා පත්තො මෙ ආසවක්ඛයො,ති.**
(ථෙරගා;80)

''**යංවා බුද්ධානං අනිච්චතං දිස්වා යං තදනුස්සරණං සබ්බ සඞ්ඛාරෙසු**
**අනිච්ච සඤ්ඤං අලභිං**'' (ථෙරඅ;338)

07. **සතිමා හොති පරමෙන සතිනෙපක්කෙන**
**සමන්නාගතො චිරකතම්පි චිරභාසිතම්පි**
**සරිතා අනුස්සරිතා**'' (මනි;2/32)

08. **සතින්ද්‍රියස්ස උපට්ඨානට්ඨො සතිසම්බොජ්ඣඞ්ගො**
**උපට්ඨානට්ඨො සම්මා සතියා උපට්ඨානට්ඨො** (ප.ව.30)
**සොතාපත්ති මග්ගක්ඛණෙ... අරහත්තමග්ගක්ඛණෙ...**
**සතින්ද්‍රියං උපට්ඨාන පරිවාරං** (පම;218)
**සම්මා සති උපට්ඨාන ලක්ඛණා** (වි.ම.347)

09. ''සති ලොකස්මිං ජාගරො '' යයි සතිය ''නිදි දුරු කිරීම'' හා සම්බන්ධ කරයි. (සනි;1/84)

10. ''**ථිරසඤ්ඤා පදට්ඨානා**'' ස්ථිර වූ සඤ්ඤාව යන්න අනුව ගැළපේ. (විම;347)

11. **චක්ඛුනා රූපං දිස්වා... අනුපට්ඨිතකාය සති ච විහරති පරිත්ත චෙතසා**
(සනි;4/244) (මනි;1/624) (සනි;4/358) (සනි;4/366) (සනි;4/380) සමග ගළපා බලන්න. එසේම (සුනිත 46 වන පිටුව) මෙත්ත සූත්‍රයෙහි, මෛත්‍රිය සියලු දිසාවල සතියේ ස්වරූපයක් ලෙස පැතිරවීම සම්බන්ධයෙන් සඳහන්ව ඇත. එහිදී සතිය අප්‍රමාණ මානසිකත්වයක් ලෙස දැක්වේ.

''**මෙත්තඤ්ච සබ්බලොකස්මිං මානසං භාවයෙ**
**අපරිමාණං... එතං සතිං අධිට්ඨෙය්‍ය**'' ආදී වශයෙනි.

12. **කිත්තයිස්සාමි තෙ ධම්මං යංවිදිත්වා සතො චරං තරෙ ලොකෙ**
**විසත්තිකං** (සුනි,322)

එසේම (326) පිටුවෙහි දැක්වේ.

13. සතිය ඉන්ද්‍රිය ධර්ම වශයෙන් නිර්වචනය කිරීමේදී, සතිපට්ඨානය වැඩීම හා ස්මෘතිය යන ගුණ දෙකම දැක්වේ.

''**චතූසු සතිපට්ඨානෙසු එත්ථ සතින්ද්‍රියං දට්ඨබ්බං** '' (සංනි;5-1/350) හෝ **චත්තාරො සතිපට්ඨානෙ ආරබ්භ සතිං පටිලභති ඉදං වුච්චති සතින්ද්‍රියං''**
එහෙත්
''**සතිමා හොති පරමෙන සතිනෙපක්කෙන සමන්නාගතො චිරකතම්පි චිරභාසිතම්පි සරිතා අනුස්සරිතා.... ඉදං වුච්චති භික්ඛවෙ සති බලං''**
(අංනි 3/18)

අවසාන වශයෙන් දැක්වූ පාඨය ''සති බලය'' නිර්වචනය කිරීමේදී යෙදේ. ''බොජ්ඣඞ්ගයක් ලෙස සතිය මේ කෘත්‍ය දෙකම ඉටු කරයි''

''**යස්මිං සමයෙ භික්ඛවෙ, භික්ඛුනො උපට්ඨිතා සතිහොති, අසම්මුට්ඨ සතිසම්බොජ්ඣඞ්ගා තස්මිං සමයෙ... භාවෙති.** (මංනි3/232)
මෙම අර්ථ නිරූපණය (සංනි,) කිහිප තැනකම හමු වේ. (සංනි;5-2/122 සිට 134)
කෙසේ නමුත්
''**ධම්මං අනුස්සරති අනුවිතක්කෙති සතිසම්බොජ්ඣඞ්ගා තස්මිං සමයෙ**'' ලෙසට ''සතිය'' බෝධි අංගයක් ලෙස සිහි කිරීමත් ''අනුවිතර්කනය'' කිරීමත් යන දෙකම සිදු වන බව දැක්වේ. මෙහි දැක්වෙන ''අනුස්සරණය'' හා ''අනුවිතර්කණය'' සිදු කෙරෙන්නේ දේශනාව සම්බන්ධයෙනි.

14. ''**සතිං ඛ්වාහං භික්ඛවෙ සබ්බත්ථිකං වදාමීති**'' (සංනි;5-1/218)

15. ''**සො සතො මිච්ඡා සඞ්කප්පං... මිච්ඡාකම්මන්තං... මිච්ඡා ආජීවං පජහති. සතො සම්මාසඞ්කප්පං සම්මාකම්මන්තං සම්මා ආජීවං... උපසම්පජ්ජ විහරති. සා' ස්ස හොති සම්මාසති**'' (මංනිත3/214)
සම්‍යක් වූ ''සතිය'' මගින් මිථ්‍යා සංකල්ප, වචන, කර්මාන්ත, දිවි පැවැත්ම යන මේවා බැහැර කොට, සම්‍යක් පැත්තට හරවන බව මෙයින් කියවේ.

16. **ඉධ භික්ඛවෙ භික්ඛු කායෙ කායානුපස්සී විහරති, සම්පජානො සතිමා, විනෙය්‍ය ලොකෙ අභිජ්ඣාදොමනස්සං**

**වෙදනාසු වෙදනානුපස්සීති විහරති, ආතාපි සම්පජානො සතිමා විනෙය්‍ය ලොකෙ අභිජ්ඣාදොමනස්සං චිත්තෙ චිත්තානුපස්සී විහරති, ආතාපි සම්පජානො සතිමා විනෙය්‍ය ලොකෙ අභිජ්ඣාදොමනස්සං ධම්මෙ ධම්මානුපස්සී විහරති ආතාපි සම්පජානො සතිමා, විනෙය්‍ය ලොකෙ අභිජ්ඣාදොමනස්සං**

(මඃනි;1/134)

17. ''**චතූසු සතිපට්ඨානෙසු සුපතිට්ඨිත චිත්තා**'' (දීඃනි;2/130)
''**චතූසු සතිපට්ඨානෙසු සුපතිට්ඨිත චිත්තා**'' (දීඃනි;3/170)
''**චතූසු සතිපට්ඨානෙසු සුපතිට්ඨිත චිත්තා**''
(සඃනි;5-1/280,290.../330, 5-2/74/76)

සතර සතිපට්ඨාන දියුණු අවස්ථාවේදී ''මිථ්‍යා අකුසල විතක්කවලට කිසිදු ඉඩක් නොලැබෙන්නේය.''
''**තයො අකුසල විතක්කෙතථා**
**චතූසු සතිපට්ඨානෙසු සුපට්ඨිත චිත්තො විහාරති.**

18. සතර පටිසම්භිදා හෙවත් සිවුපිළිසිඹියා ඉස්මතු කොට දක්වන පටිසම්භිදාමග්ගය මේ කාරණය ඉස්මතු කොට දක්වයි.
''**අඤ්ඤෙ සද්ධින්ද්‍රියං ධම්මො, අඤ්ඤෙ විරියින්ද්‍රියං ධම්මො, අඤ්ඤෙ සතින්ද්‍රියං ධම්මො, අඤ්ඤෙ සමාධින්ද්‍රියං ධම්මො, අඤ්ඤෙ පඤ්ඤින්ද්‍රියං ධම්මො... ධම්ම පටිසම්භිදෙ ඤාණං, අඤ්ඤෙ සතිසම්බොජ්ඣඞ්ගො ධම්මො අඤ්ඤෙ ධම්මවිචයසම්බොජ්ඣඞ්ගො ධම්මො** යනාදී ලෙස, (පඃම;1/170)
එසේම
**අඤ්ඤෙ සම්මාවායාමො ධම්මො, අඤ්ඤෙ සම්මාසති ධම්මො, අඤ්ඤෙ සම්මාසමාධි ධම්මො** (පඃම;1/172)

19. ''**උපට්ඨිතා සති හොති අසම්මුට්ඨා... සො තථා සතො විහරන්තො තං ධම්මං පඤ්ඤාය පවිචිනති, පවිචයති, පරිවීමංසං ආපජ්ජති, ධම්මවිචයසම්බොජ්ඣඞ්ගො තස්මිං සමයෙ භික්ඛු භාවෙති. (මඃනි 3/234)**
එම (සංඃනි;5-1/146)

20. ''**කායෙ කායානුපස්සී විහරති, ආතාපි සම්පජානො සතිමා විනෙය්‍ය ලොකෙ අභිජ්ඣාදොමනස්සං, වෙදනාසු**

**වෙදනානුපස්සී විහරති ආතාපි සම්පජානො සතිමා විනෙය්‍ය ලොකෙ අභිජ්ඣාදොමනස්සං, චිත්තෙ චිත්තානුපස්සී විහරති ආතාපි සම්පජානො සතිමා විනෙය්‍ය ලොකෙ අභිජ්ඣාදොමනස්සං, ධම්මෙසු ධම්මානුපස්සී විහරති ආතාපි සම්පජානො සතිමා විනෙය්‍ය ලොකෙ අභිජ්ඣාදොමනස්සං අයං වුච්චති භික්ඛවෙ සම්මාසති** (දීඃනි;2/494)

මීට වෙනස් වූ විකල්ප විවරණයක් ලෙස ''**සම්මා සරති සම්මාවාචාය සරන්තීති, සම්මාසති.**'' යයි සරල ලෙස මතක් කිරීමේ කෘත්‍යය දක්වයි. (ධඃසඃඅ;128)

21. ''**මිච්ඡා සති**'' **(දීඃනි;2/556, 3/542, 534, 508)**
**(මඃනි1/298, 3/222)**
**(සංඃනි2/262, 3/188, 5-1/20, 22,26,30,34,38 5-2/204)**
**(අංඃනි2/420, 442, 3/222, 5/152, 6/380, 452)**

මිථ්‍යා අනුස්සතියක් පිළිබඳවද සටහන් දක්වෙයි. (අංඃනි;4/78)

සෑහෙන තරම් ප්‍රමාණයකින් සූත්‍ර පිටකයේ හමු වන මිථ්‍යා සතිය පිළිබඳ මේ සටහන්, අට්ඨ කථා අනිවාර්යයෙන්ම සෝභන චෛතසිකයක් වශයෙන් සතිය හැඳින්වීම සමග විරසක භාවයක් දක්වයි. අට්ඨ කථා විවරණය ප්‍රායෝගික ගැටලු ඇති කරයි. සතිපට්ඨාන සූත්‍රයේ දැක්වෙන නීවරණ හා සම්බන්ධ සතිය කෙසේ නම් සෝභන පක්ෂයේ පැවතිය හැකිද? අකුසල් හා කුසල් යන දෙකම එකම සිතක එකට පැවතිය නොහැක්කේය. මෙම ප්‍රායෝගික ගැටලුව මග හැරලීමට අට්ඨ කථාව විවරණය කරන ටීකාචාරීන් වහන්සේ, සතිපට්ඨාන සූත්‍රයේ දැක්වෙන අකුසල් සිත වනාහි සතිය යෙදෙන අවස්ථාවල එම අකුසල්වල බලපෑම නිසා සිදු වන ක්ෂණික චිත්තක්ෂණ වෙනසක් වශයෙන් එහි ලා හඳුන්වා දෙයි. - පපඤ්ච සුදනී ටීකාව . (1/372 ඉංග්‍රීසි අකුරු මුද්‍රණය)

22. ''**සතීමතො සදා භද්දං** - **සතිමා සුඛමෙධති,**
**සතීමතො සුවෙ සෙය්‍යො** - **වෙරා න පරිමුච්චති**
**යස්ස සබ්බමහොරත්තං** - **අහිංසාය රතො මනො**
**මෙත්තං සො සබ්බභූතෙසු** - **වෙරං තස්ස න කෙනචීති**
**(සංඃනි;1/370)**

මණිභද්ද සූත්‍රයේ දෙබසක කොටසක් වන මෙහිදී බුදුපියාණන් වහන්සේ යම් නිවැරදි කිරීමත් කරන සේක. කෙසේ නමුත් මෙහිදී වැදගත් වන්නේ ''වෙරා න පරිමුච්චති'' යන්නයි. එනම් හුදු සතියෙන්

පමණක් වෛරය යටපත් කළ නොහැකිය යනුයි. එසේ නමුදු සතිය මගින් වෛරය පහළ වීම වැළැක්විය නොහැක්කේය යන්නක් නොකියවේ.

සතිය එළඹ තිබීම නිසා කෙනෙකු තම එදිරිවාදියා තමා සමග වෛරයෙන් පසු වන බව දැන, තම සිත ශාන්ත බවට පත් කර ගැනීමෙහි ලා වැදගත් මෙහෙයක් කරන බවට ''**පරං සඞකුපිතං ඤත්වා යො සතො උපසමමති**'' යන්න සාක්ෂි දේ.

(සංඃනි;1/290, 394,398)

23.''**සති කරණීයං**''

කලින් ඔහු විසින්ම, රැකීම නම් වූ ''රක්ඛෙයා'' ආයාසයෙන් කළ යුතුව තිබුණේය. (මඃනිඃ1/290)

කෙසේ නමුත් මේ නිදසුනින් ගවයන් කෙතට වැදී, කිරිවැදී ඇති භෝග කා දැමීම වැළැක්වීමට සතියට හැකියාවක් නැතැයි කියවේ. ඇත්ත වශයෙන්ම එවැන්නක් සිදු වන බව, ''**බිපපං නිගණ්හ සතියා කිට්ඨාදං විය දුපපසුනති**'' (ථෙරඃගා;130)

එහෙත් ඉහත දැක්වෙන වඩා නිදහස් නිරීක්ෂණය සතියේ ඇති කේවල සුබග්‍රාහී බව මොනවට ඉස්මතු කොට දක්වයි.

24. ''**සතිපට්ඨාන පාසාදං ආරුය්හ පච්චවෙක්ඛිසං** (ථෙරඃගා;194)

25. ''**සෙයාථාපි ''අගගිවෙසසන'' හත්ථිදමකො... ආරඤ්ඤක නාගසස... ආරඤ්ඤකානඤ්චෙව, සරසඞකපපානං අභිනිමමදනාය... එවමෙව ඛො ඉමෙ චත්තාරො සතිපට්ඨානා චෙතසො ගෙහසිතානඤ්චෙව සරසඞකප්පානං අභිනිමමදනාය**'' (මඃනි;3/316)

26. ''**එසනීතිඛො සුනකඛත්ත, සතියායෙතං අධිවචනං** (මඃනි;3/78)

27. ''**සති මෙ ඵාලපාචනං** (සුඃනි 24)

28. ''**සතිපරිචිතෙහි ධමෙම පඤ්ඤා පජානාති නො පමුට්ඨා**''

(සුඃනිඃඅ;102, සඃනිඃඅ;1/196)

29. ''සති ගීවා සිරො පඤ්ඤා'' (අ:නි;4/108)

**''යථා නාගස්ස අඞ්ගපච්චඞ්ගෙ සිරාජාලානං, ගීවා පතිට්ඨා එවං බුද්ධනාගස්ස සොරච්චාදීනං ධම්මානං සති, තෙන වුත්තං සති ගීවාති.**

(අං:අ;670)

**''සතිපට්ඨානගීවො... මහාමුනි පඤ්ඤා සීසො''** (ථෙර:ගා;248)

30. **''අවලොකෙන්තො ඛො පන සො භවං ගොතමො සබ්බකායෙනෙව අවලොකෙති''**

(භවත් ගෞතමයෝ වූ කලී බලන්නාහු, (ග්‍රීවා නොපෙරළා) හැම කයින්ම බලති)

(ම:නි;2/582, දී:නි; 2/190)

මෙම හත්ථාවලෝකනය හෙවත් ඇත්බැල්ම කකුසඳ බුදුපියාණන්ටත් සාධාරණ වූ ගුණයක් බව දැක්වේ.

**නාගාපලොකිතං අපලොකෙසිත** (ම:නි;1/784)

31. රහත් උතුමන් වහන්සේලා සතියේ ගිළිහී යෑමක් වනාහි නොවන්නේය.

**''නත්ථි අරහංන්තානං සති සම්මොසා''** (මි:ප;231)

32. **''එකාරො වත්තති රථො''** (බු:නි;282)

**''එකො සති සංඛාතො ආරො එතස්සාති එකාරො** (උ:අ;247)

**එකාරො සතියා එතං අධිවචනං** (සං:නි;4/536)

**මෙහි සම්පූර්ණ විස්තරය නිදර්ශන සහිතව මෙසේ හමු වේ.**

**''එකාරො වත්තති රථො''** (බු.නි.282)

**''එකෙසති සංඛාතො ආරො එතස්සති එකාරො** (අ. 247)

33. **''යානි සොතානි ලොකස්මිං - සති තෙසං නිවාරණං**

**සොතානං සංවරං බෲමි -පඤ්ඤා යෙතෙ පිථීයරෙ''**

(සු:න;316)

34. **''අසම්මොස රසා''** සම්මෝස භාවය හෙවත් (මුළාව නැති බව) සතියේ කෘත්‍යයයි. (වි:ම;347)

35. **''සති ආරක්ඛ සාරථී''** (සං:නි;5-1/10)

මෙම රූපකයම **''ධම්ම චක්කෙහි, සංයුතො, සතස්ස පරිවාරණං''**

(සං:නි;1/58)

මෙහිදී ධර්මයම රථාචාර්යයා වශයෙන් දක්වෙන අතර, සතියේ තත්ත්වය රථාචාර්යවරයාගේ පිටිකර හෙවත් සැරසිල්ල මට්ටමට පහත බැස ඇත.

36. සමතිත්තිකො තෙලපත්තොති... කායගතාය එතං සතියා අධිවචනං (සංනි;1/304)

37. දොවාරිකොති සතියා එතං අධිවචනං (සංනි;4/472)

38. සෙය්‍යථාපි රඤ්ඤො පච්චන්තිමො නගරෙ දොවාරිකො හොති පණ්ඩිතො ව්‍යත්තො මෙධාවි, අඤ්ඤාතානං නිවාරතා ඤාතානං පවෙසෙතා... අබ්භන්තරානං ගුත්තියා බාහිරානං පටිඝාතාය... එවමෙව ඛො භික්ඛවෙ, අරියසාවකො සතිමා හොති පරමෙන සතිනෙපක්කෙන සමන්නාගතො චිරකතම්පි චිරභාසිතම්පි සරිතා අනුස්සරිතා (අංනි;4/436,440)

39. ''සති ආරක්ඛපච්චුපට්ඨානා, චක්ඛුද්වාරාදී රක්ඛණතො දොවාරිකො විය ච දට්ඨබ්බා (විම;347)

40. ''භික්ඛු සතාරක්ඛෙන චෙතසා සමන්නාගතො හොති, එවං ඛො භික්ඛවෙ භික්ඛු එකාරක්ඛො හොති. (අංනි;6/56)

41. ''සඞ්කප්ප විතක්කා... සතාධිපතෙය්‍යා'' (අංනි;5/422)

42. ''භික්ඛු චත්තාරො සතිපට්ඨානෙ යථාභූතං පජානාති... එවං ගොචර කුසලො හොති, (අංනි;6/664)

43. කථඤ්චභික්ඛු න ගොචරකුසලො හොති, ඉධ භික්ඛු චත්තාරො සතිපට්ඨානෙ යථාභූතං න ප්පජානාති...
අභබ්බො ඉමස්මිං ධම්මවිනයෙ වුඩ්ඪිං විරූළ්හිං වෙපුල්ලං ආපජ්ජිතං'' (මනි;1/530)

44. ''කොච භික්ඛවෙ භික්ඛුනො ගොචරො... යදිදං චත්තාරො සතිපට්ඨානා'' (සංනි;5-1/270)

දඬයම්කරුවන් වඳුරු ලාටු ලා උගුල් අටවා ඇති තැනක හැසිර ව්‍යසනයට පත් වන වඳුරෙකුගේ උපමාවත්, ගිජුලිහිණියෙකුගෙන් ගැලවීමට නම් කැට කුරුල්ලා තම ගෝචර භූමියෙහිම හැසිරීමෙන් එම කටයුත්ත සරි කරගන්නා අයුරුත් ගෙන හැර පාමින් භික්ෂූන් වහන්සේලාට ගෝචර භූමියේ හැසිරීමට බුදුන්වහන්සේ අනුශාසනා කරන සේක. (සංːනි;5-1/268)

45. ''**කොච භික්ඛුනො අගොචරො පරවිසයො: යදිදං පඤ්ච කාමගුණා**''
(සංːනි;5-1/268)

46. ''**ඡප්පාණකෙ ගහෙත්වා**'' ඡප්පාණක උපමාව... (සංːනි;4/380)

47. **පිණ්ඩාය පවිස ති... අනුපට්ඨිතාය සතියා අසංවුතෙහි,**
**ඉන්ද්‍රියෙහි, සො තත්ථ පස්සති මාතුගාමං දුන්නිවත්තං**
**රාගො චිත්තං අනුද්ධංසෙති සික්ඛං පච්චක්ඛාය හීනායං වත්තති**
(මːනි;2/214/) (චාතුම සූත්‍රය)

ඇත්ත වශයෙන්ම, කාන්තාවන් සමග සම්බන්ධකම් පවත්වන භික්ෂූන් වහන්සේලා විශේෂයෙන් සතිමත් විය යුතු බව බුදුපියාණන් වහන්සේ මතක් කොට ඇත. (දීːනි;2/220)

48. ''**ද්වෙ ධම්ම දෙසනා පරියායෙන භවන්ති**''... **පාපං පාපතො පස්සථා'ති අයං පඨමා ධම්ම දෙසනා, පාපං පාපතො දිස්වා තත්ථ නිබ්බින්දථ විරජ්ජථ විමුච්චථා'ති, අයං දුතියා ධම්ම දෙසනා** (ඛුːනි;362)

49. දැඩි වීර්යයත් සමග සතිය එකට යෙදීම පිළිබඳව බෝසතාණන් වහන්සේ දුෂ්කර ක්‍රියා කළ කාලය හා සම්බන්ධ දේශනාවේ දැක්වේ. අති දුෂ්කර උත්සාහයේදීද සතිය එළඹ සිටි බව එයින් කියවේ.
''**උපට්ඨිතා සති අසම්මුට්ඨා**'' (සංːන;5-1/270)

50. ''සතියේ මෙම සුබග්‍රාහී බව මෙන්ම තමා වශයෙන් මැදිහත් වීමක් නැති බව සඳහන් වන වෙනත් තැනක සතිය සාමකාමී බව හා සම්බන්ධ කොට ඇත.
''**චතුහි කාරණෙහි සතො සන්තාතත්තා සතො සමිතත්තා සතො සන්තධම්මසමන්නාගතත්තා සතො** (චුːනි;86)

51. සතිය බන්ධනයක් ලෙසට මෙන්ම බාධකයක් වශයෙන්ද දැක්වීමට නිදසුන් වශයෙන්
**සතියා තං නිබන්ධිස්සං පයතත්තො වොදපෙස්සාමි** (ථෙරගා;112)
**''ඛිප්පං නිග්ගණ්හ සතියා කිට්ඨාදං විය දුප්පසුන්ති.** (ථෙරගා;130)

52. **''තිස්සො ඉමා පටිපදා...කාමෙසු පාතව්‍යතං ආපජ්ජති.**
**අයං වුච්චති භික්ඛවෙ ආගාළ්හා පටිපදා... කායස්ස**
**ආතාපන පරිතාපනානුයොග මනුයුත්තො විහරති.**
**ආතාපි සම්පජානො සතිමා විනෙය්‍ය ලොකෙ අභිජ්ඣා**
**දොමනස්සං වෙදනාසු වෙදනානුපස්සී විහරති ආතාපි**
**සම්පජානො සතිමා විනෙය්‍ය ලොකෙ අභිජ්ඣා**
**චිත්තෙ චිත්තානුපස්සී විහරති ආතාපි සම්පජානො සතිමා**
**විනෙය්‍ය ලොකෙ අභිජ්ඣා දොමනස්සං ධම්මෙසු විහරති**
**ආතාපි සම්පජානො සතිමා විනෙය්‍ය ලොකෙ**
**අභිජ්ඣා දොමනස්සං අයංවුච්චති. මජ්ඣිමා පටිපදා**
යන්න සමග මෙය යම් තාක් දුරට ගැළපේ. (අංනි;1/532)

53. **කිඩ්ඩාපදොසිකා නාමදෙවා** (දීනි;1/34, 3/50)

54. (දීනි;2/406)

55. **''මනසිකාරො...සබ්බචිත්ත සාධාරණා...** (අභිසං 46)
සූත්‍ර පිටකයේද සතිය නාම ධර්මවලට ඇතුළත් කොට මනසිකාරය හා සමාන වටිනාකමකින් දක්වා ඇත.

56. **''සති විසයාභිමුඛභාව පච්චුපට්ඨානයයි''**
සතියේ කේවල ලක්‍ෂණයකි. (විම 347)
**විසයෙ අභිමුඛො භවති එතායාති විසයාභිමුඛ භාවෙ** (මහානි;487)

57. යෝනිසෝ මනසිකාරය නීවරණ විනාශකයක් ලෙසට, (සංනි;5-1/206)
පඤ්ච උපාදානස්කන්ධයනට යොනිසො මනසිකාරය
යොමු කරලීමෙන්, සත්‍යාවබෝධයට මග පැදෙන බව (සනි;3/90, සනි4/282)
බොජ්ඣඞ්ග ධර්ම පැහැදිලි කරන බව (සංනි;5-1/200)
ආර්ය සත්‍ය අනුව භාවනා කිරීමේදී (මනි;1/24)

යෝනිසෝ මනසිකාරය, සති සම්පජඤ්ඤයට ආහාර බව දැක්වෙන අතර, එමගින් සතර සතිපට්ඨානයට ආහාරයක් වේ. (අං:නි;6/214)

58. **ඉන්ද්‍රියෙසු ගුත්තද්වාරා... නනිමිත්තගගාහි නානුබ්‍යඤ්ජනගගාහී යත්වාධිකරණමෙතං චක්ඛුන්ද්‍රියං ආසංවුතං විහරන්තං අභිජ්ඣා දොමනස්සා පාපකා අකුසලා ධම්මා අනවාස්සවෙය්‍යුං** (ම:නි;1/636)

59. **''විනෙය්‍ය ලොකෙ අභිජ්ඣා දොමනස්සං''** (ම:නි;1/134)

60. **''සෙය්‍යාථාපි... ඉත්ථිවා පුරිසොවා... ආදාසෙ වා පරිසුද්ධෙ පරියොදාතෙ අච්ඡෙ වා උදකපත්තෙ... එවමෙව ඛො ආවුසො භික්ඛුනො පච්චවෙක්ඛනා බහුකාරා හොති කුසලෙසු ධම්මෙසු:අභිජ්ඣාලු නු ඛො බහුලං විහරාමි, අනභිජ්ඣාලු නු ඛො බහුලං විහාරාමි, අබ්‍යාපන්නචිත්තො...** (අං:නි;6/170)

එසේම (දී:නි;1/138, ම:නි;1/250,)

61.''**උපට්ඨිත**''යනු එළඹ සිටීම යයි දැක්වෙන ස්ථාන:
මුර බල්ලාගේ එළඹ සිටීම (දී:නි;1/364)

''**යමපුරිසා'' පි ච තං උපට්ඨිතා,** යම දූතයෝද තට එළැඹ සිටියහ. (බු:නි;84)
''**භත්තකාලෙ උපට්ඨිතෙ,** භෝජන කාලය එළඹෙන (සු:නි;40)
''**උපට්ඨිතො රුක්ඛමූලස්මිං,** රුක් මුල්හි එළැඹ සිටියේ (සු:නි;220)
''**යෙසඤ්ච හිරිඔත්තප්පං සදා සම්මා උපට්ඨිතා''** යම් කෙනකුට වනාහි භය ලජ්ජා දෙක හැම කල්හි, මැනවින් එළැඹ සිටියහුද? (බු:නි;336)

62. ''**උපට්ඨිත යනු** : උපස්ථානය යන අර්ථ යෙදේ.
දෙවියන් ශක්‍රයාට උපස්ථාන කරයි. (දී:නි;2/406)
ගුරුවරයාට ආවතේව කිරීම පිණිස සිටීම (දී:නි;3/304)
දෙමාපියන්ට උපස්ථාන කිරීම (අං:නි;1/274)
මෙම අර්ථයෙන්ම උපස්ථායක ලෙස (සු:නි;8)

63. ''**සතියා පට්ඨානං** (පඃමඃඅ;2/5)
''**සතියෙව පතිට්ඨානං සතිපට්ඨානං**'' (විඃම;509)

64. ''සතිපට්ඨාන භාවනාවේ ඵලයක් ලෙස'' උපට්ඨිත සතිය දක්වයි. (මඃනි;3/234)
''**උපට්ඨිතාය සති**'' (සංඃනි;4/244)
''**සති සුපට්ඨිතා හොති**'' (අංඃනි;2/468)
''**සති උපට්ඨපෙස්සනති**'' (අංඃනි;4/314)
සතිපට්ඨාන සූත්‍රයේම ''**සතිං උපට්ඨපෙත්වා සති පච්චුපට්ඨිතා**'' (මඃනි;1/134)
''**කායො උපට්ඨානං නො සති. සති උපට්ඨානඤ්චෙව සතීච...** (පඃම;220)

65. මේ සතිපට්ඨාන තුන වනාහි විවිධ අවස්ථා තුනක් යටතේ, සතිමත් බවත්, උපේක්ෂාවත් පැවැත්වීමේ හැකියාව අදහස් කරයි. එනම් කිසිම ශ්‍රාවකයකුත් අවධානය යොමු නොකරන විට, සමහර දෙනකු පමණක් අවධානය යොමු කරන විට හා සියල්ලන්ම එක සේ අවධානය යොමු කරන විට යන මේ අවස්ථා තුනයි. මෙය සාමාන්‍ය කාය, වේදනා, චිත්ත, ධම්ම යන ක්ෂේත්‍රයන්ට අදාළ භාවයක් කිසිත් නොදක්වයි. (සංඃනි;3/466)

66. (සංඃනි;5-2/112)

67. (මඃනි;3/232)

68. ''**ඉධ භික්ඛු කායෙ කායානුපස්සී විහරති... තස්ස... කායෙ... විහරතො චිත්තං විරජ්ජති, විමුච්චති, අනුපාදාය ආසවෙහි.** (සංඃනි;5-1/286)

**තස්සකායෙ කායානුපස්සිනො විහරතො... ඡන්දො සො පහීයති, ඡන්දස්ස පහානා අමතං සච්ඡිකතං හොති.** (සංඃනි;5-1/324)
''**කායෙ කායානුපස්සී විහරති... අයං වුච්චති අසඞ්ඛතගාමී මග්ගො** (සංඃනි;4/642)

69. ආනාපානය තුළින් (මඃනිඃඅ;1/226)
සතර ඉරියාපථ පිළිබඳ අවබෝධය තුළින් (මඃනි;3/224)
මෙම දේශනාවේ වේදනා, චිත්ත, ධම්ම යන සියල්ලටම සමාන ලෙස දේශනා කර ඇත.

70. ''යොගි කොචි... ඉමෙ චත්තාරො සතිපට්ඨානෙ එවං භාවෙය්‍ය...
දිට්ඨෙව ධම්මෙ අඤ්ඤා සතිවා උපාදිසෙසෙ අනාගාමිතා
(ම:නි;1/152)

71. ''චතුන්නං සතිපට්ඨානං පදෙසං භාවිතත්තා සෙඛොහොති... සමත්තං
භාවිතත්තා අසෙඛො හොති (සං:නි;5-1/312)

72. (සං:නි;5-1/110)

73. (ම:නි:අ;1/258)

74. ''භික්ඛු රූපං සමන්නෙසතො යාවතා රූපස්සගති, වෙදනං... සඤ්ඤං...
සඤ්ඤායගති සඞ්ඛාරෙ... විඤ්ඤාණං... යම්පස්ස තං හොති අහන්තිවා
මමන්තිවා... තම්පි තස්ස න හොති. (සං:නි;4/378)

75. ''මන්දස්ස තණ්හා චරිතස්ස ඔළාරිකං කායානුපස්සනා
සතිට්ඨානං විසුද්ධිමග්ගො තික්ඛස්ස සුඛුමං
වෙදනානුපස්සනා සතිපට්ඨානං දිට්ඨීචරිතස්ස' පි මන්දස්ස
නාතිප්පභෙදගතං චිත්තානුපස්සනා සතිපට්ඨානං
විසුද්ධිමග්ගො තික්ඛස්ස අතිප්පභෙදගතං ධම්මානුපස්සනා සතිපට්ඨානං
(ම:නි:අ;1/215-216)

76. කායානුපස්සී විහරන්තො අසුභෙ සුභන්ති විපල්ලාසං
පජහති... වෙදනානුපස්සී විහරන්තො දුක්ඛෙ සුඛන්ති
විපල්ලාසං පජහති... චිත්තානුපස්සී විහරන්තො අනිච්චෙ
නිච්චන්ති විපල්ලාසං පජහති... ධම්මානුපස්සී විහරන්තො
අනත්තනියෙ අත්තානි විපල්ලාසං පජහති. (නෙ:ප;122-124)

මෙම දැක්වීමම: ''සුභ, සුඛ, නිච්ච, අත්ත, සඤ්ඤා පහාන
කිච්චසාධනවසෙන ච... තස්මා චත්තාරො සතිපට්ඨානා''ති වුච්චන්ති.
(වි:ම;509)

77. ''චත්තරො සතිපට්ඨානාතිව අත්ථතො එකං බ්‍යඤ්ජනමෙවෙත්ථ නානං
(ම:නි:අ;1/215)
''සමොසරණවසෙන' ච එකමෙව සතිපට්ඨානං ආරම්මණවසෙන
චත්තාරොති... (ම:නි:අ;1/216)

78. ''එව මෙව භගවා... නයෙන ආරම්මණවසෙන චතුධා භින්දිත්වා තතො එකෙකං සතිපට්ඨානං ගහෙත්වා විභජනෙතා.

79. සො තාය සමාපත්තියා සතො වුට්ඨහති. (මඃනි;3/140)
සියලුම ධ්‍යාන සම්පත්තිවලින් නැගී සිටීමේදී සතිය යෙදිය යුතු බව දක්වේ. (ධඃසිඃ74-86)
සියලුම ධ්‍යානවලදී සතිය යෙදී ඇති බවද දක්වේ. (ධඃසිඃ74-86)

එසේම (පඃම;66-68)

80. ''සමාධි අත්තනො ධම්මතාය අරම්මණෙ එකග්ග භාවෙන අප්පෙතුං න සක්කොති... සතියා අපිලාපන කිච්චං සාධෙන්තියා... හුත්වා සක්කොති, (විඃම;384)

81. ''සො එවං පජානාති, එවං මෙ ධම්මා අහුත්වා සම්භොනති, හුත්වා පටිවෙන්ති. (මඃනි;3/134)

82. ''සො ඛො පනාහං ඉමං සමාධිං සතෙ' ව සමාපජ්ජාමි, සතො වුට්ඨහාමීති. (දීඃනි;3/484)

83. ''සතොව සමපජානො... තතියං ඣානං උපසමපජ්ජ විහරති (දීඃනි;3/484)

84. උපෙක්ඛා සති පාරිසුද්ධිං චතුත්ථං ඣානං උපසමපජ්ජ විහරති (දීඃනි;3/374)

''ඉමං යෙව උපෙක්ඛා සතිපාරිසුද්ධිං ආගම්ම අනෙකවිහිතෙන, පුබ්බෙනිවාසං අනුස්සරති
සතිය උපේක්ෂාවෙන් විසුද්ධියට පත් වන බව මෙහි ''සතිපාරිසුද්ධිං'' යන්නෙන් දක්වේ.

''අයං සති ඉමාය උපෙක්ඛාය විවටා හොන්ති පාරිසුද්ධා පරියොදාතා තෙන වුච්චති, උපෙක්ඛාසති පාරිසුද්ධි' න්ති. (විඃප;2/60)

එසේම (විඃපඃඅ;176, විඃමඃ123)

85. ''කායෙ කායානුපස්සී විහරතො තත්ථ සම්මා සමාධියති... සො තත්ථ සම්ම සමාධිතො... බහිද්ධා පරකාය ඤාණදස්සනං අභිනිබ්බත්තෙති
(දී:නි;2/238)

''චතුන්නං ඛවාහං ආවුසො සතිපට්ඨානං භාවිතත්තා බහුලීකතත්තා මහාභිඤ්ඤතං පත්තො[72]... ඉද්ධිවිධං[78]... දිබ්බාය සොතධාතුයා[78]... චෙතො පරිච්චපජානාමි[80]... පුබ්බෙනිවාසං අනුස්සරාමිති[82]... දිබ්බෙනචක්ඛුනා[82] ආසවානං ඛයා... (සං:නි;5-1/276)

කායෙ කායානුපස්සී.... ධම්මෙ ධම්මානුපස්සිනො විහරති චිත්තං සමාධියති, උපක්කිලෙසා පහීයන්ති. (සං:නි;5-1/276)

''කායෙ කායානුපස්සී ධම්මෙසු ධම්මානුපස්සී යථො ඛෙ තෙ අයං සමාධි එවං භාවිතො හොති... තතො ත්වං ඉමං සමාධිං සවිචාරං අවිතක්කම්පි විචාරමත්තම්පි උපෙක්ඛා සහගතම්පි භාවෙය්‍යාසි.

86. එහි ත්වං භික්ඛු කායෙ කායානුපස්සී විහරති මා ච කායූපසංහිතං විතක්කං විතක්කයි, වෙදනාසු චිත්තෙසු... ධම්මෙසු... සො විතක්ක විචාරානං වූපසමා අජ්ඣත්තං සම්පසාදනං දුතියජ්ඣානං උපසම්පජ්ජ විහරති.

87. ''චිත්තස්ස එකග්ගතා අයං සමාධි... චත්තාරො සතිපට්ඨානා සමාධිනිමිත්තාය... තෙසං යෙව ධම්මානං ආසෙවනා භාවනා බහුලීකම්මං අයං සමාධිභාවනා (ම:නි;1/710)

සතියේ සමාධි භාවනාවට ආධාරක බව, සම්මා සතිස්ස සම්මා සමාධි පහොති (අං:නි;6/386)

88. ... **(අං:නි;1/46)**

89... **(සං:නි;5-2/62-82)**

90. ''කායෙ කායානුපස්සී... ධම්මෙසු ධම්මානුපස්සී විහරතො ධම්මාරම්මණො'ව උප්පජ්ජති කායස්මිං පරිළාහො චෙතසොවා ලීනත්තං, බහිද්ධාවා චිත්තං වික්ඛිපතිතෙන භික්ඛුනා...

**කිසම්ඤෙවව පසාදනීයෙ නිමිත්තෙ චිත්තං පණිදහිඛ්ඛං තසස පාමොජ්ජං ජායති සුඛිනො චිත්තං සමාධියති... එවං පණිධාය භාවනා හොති, (අනතුරුව) බහිද්ධා... භික්ඛු චිත්තං අපණිධාය... අසඞ්ඛිත්තං විමුත්තං අප්පණිහිතං පජානාති අථ ච පන කායෙන කායානුපස්සී... ධම්මෙසු ධම්මානුපස්සී විහරන්ති. ආතාපි සම්පජානො සතිමා සුඛිතස්මීති පජානාති එවං අපණිධාය භාවනා හොති.** (සං:නි;5-1/282)

91. මෙම ඡේදය ආරම්භයේදී බුදු පියාණන් වහන්සේ, සතර සතිපට්ඨාන මනා ලෙස පිහිටා සිටීමේ අගය දක්වයි. මෙලෙස සමථ භාවනාවේ ආධාරක බව විපස්සනා භාවනාව සඳහා තිබිය යුත්තක් බව දැක්වීම් වශයෙන් ''පණිධාය'' භාවනාව
හා ''අපණිධාය'' භාවනාව වශයෙන් විවරණය කිරීමෙන් හුවා දැක්වූ සේක.

92. **''එකායනො අයං භික්ඛවෙ මග්ගෙ... නිබ්බානසස සච්ඡිකිරියාය - යදිදං චත්තාරො සතිපට්ඨානා** (ම:නි;1/134)

**''එසා... පරමා අරියා පඤ්ඤා යදිදං සබ්බදුක්ඛක්ඛයෙ ඤාණං** (ම:නි;3/506)

**''පඤ්ඤා පාරමිතං පත්තො''** (ථෙ:ගා;232)

**නිබ්බාණ පරමං සුඛං** (ඛු:නි;76)

**''එවං විමුත්ත චිත්තො... විමුත්තානුත්තරියෙන** (ම:නි;1/556)

# ග්‍රන්ථ සංකේත නිරූපණය

## සූත්‍ර පිටකය

දී ː නි - දීඝ නිකාය
මː නි - මජ්ඣිම නිකාය
සං ː නි - සංයුත්ත නිකාය
අං ː නි - අංගුත්තර නිකාය
ඛුː නි - ඛුද්දක නිකාය
ධː ප - ධම්මපද පාලි
උː ප - උදාන පාලි
ඉː වු ː ප - ඉතිවුත්තක පාලි
සුː නි - සුත්ත නිපාත
ථෙර ː ගා - ථෙරථෙරි ගාථා
මː නි - මහනිද්‍දෙස පාලි
චුː නි - චුල්ලනිද්‍දෙස පාලි
පː ම - පටිසම්භිදාමග්ගප්පකරණ
නෙ ː ප - නෙත්තිප්පකරණ

## සූත්‍ර පිටක අටුවා

දී ː අ - දීඝනිකායට්ඨකථා
මː අ - මජ්ඣිමනිකායට්ඨකථා
සː අ - සංයුත්තනිකායට්ඨකථා
අං ː අ - අඞ්ගුත්තරනිකායට්ඨකථා
සුː නි - සුත්තනිපාතට්ඨකථා

## අභිධර්ම පිටකය

ධː ස - ධම්මසඞ්ගණිප්පකරණ
විː අ - විභඞ්ගප්පකරණ

## අභිධර්ම පිටක අටුවා

ධ: ස : අ - ධම්මසඞ්ගණිප්පකරණට්ඨකථා
විභ : අ - විභඞ්ගප්පකරණට්ඨකථා

## විනය පිටකය

පා : පා - පාචිත්තියපාලි
චු: පා - චුල්ලවග්ගපාලි

## විනය පිටක අටුවා

සඃ ප - සමන්තපාසාදිකා විනයට්ඨකථා
වි : ම - විසුද්ධිමග්ගය (පාලි විවරණය)
මි : ප - මිලින්දපඤ්හපාඨ (හෙ:ස)
බු : ජ - බුද්ධ ජයන්ති මුද්‍රණය
හෙ : ස - හේවාවිතාරණ මුද්‍රණය